# ශ්‍රී ලංකාවේ බෞද්ධ විහාර හා දේපළ නීතිය

නීතිඥ ලක්ෂමන් විජේසිංහ

ශ්‍රී ලංකාවේ බෞද්ධ විහාර හා දේපළ නීතිය - නීතිඥ ලක්ෂමන් විජේසිංහ



ශ්‍රී ලංකාවේ බෞද්ධ විහාර හා දේපළ නීතිය නැමැති විෂය සඳහා ලියැවුනු මෙම ග්‍රන්ථයේ, මෙම විෂය සම්බන්ධව දුර්ලභ කරුණු රාශියක් අඩංගු වී තිබීම නිසාත්, සරල භාෂා ශෛලියකින් ලියැවී ඇති නිසාත්, සංඝයා වහන්සේලාට, නීතිඥවරුන්ට මෙන්ම සාමාන්‍ය පාඨකයාට ද එකසේ ප්‍රයෝජනවත් වේ.

මෙහි කතුවරයා ශ්‍රී ලංකා නීති විද්‍යාලයෙන් 1989 වසරේ නීතිඥවරයෙකු ලෙස පත්වී නොතාරිස් වරයෙකු හා දිවුරුම් කොමසාරිස්වරයෙකු ලෙසත් සිවිල් නීතිය සම්බන්ධව දැනට කටයුතු කරන අතර, වෘත්තීය සමිති හා කම්කරු නීතිය සම්බන්ධව (ජාත්‍යන්තර කම්කරු සංවිධානයේ) ඩිප්ලෝමා ලාභියෙකුද, ජාත්‍යන්තර කටයුතු පිළිබඳ පශ්චාත් උපාධි ඩිප්ලෝමා ලාභියෙකු ද වේ.




රු. 350/=

ISBN - 955 - 95872 O - X

# ශ්‍රී ලංකාවේ බෞද්ධ විහාර හා දේපළ නීතිය

නීතිඥ ලක්ෂ්මන් විජේසිංහ

ප්‍රකාශනය
**ලක්ෂ්මන් විජේසිංහ**
54/7, 1 වන පටුමග,
කටුබැද්ද, මොරටුව.

# පෙරවදන

ශ්‍රී ලංකාවේ බෞද්ධ විහාර දේවාල වලට අදාල නීති සම්බන්ධයෙන් ලියවුන පොතකට පෙරවදනක් ලිවීමට ලැබීම භාග්‍යයක් කොට සලකමි.

නීතිඥ ලක්ෂ්මන් විජේසිංහ මහතා විසින් ශ්‍රී ලංකාවේ බෞද්ධ විහාර හා දේපළ නීතිය නමින් ග්‍රන්ථයක් එළි දැක්වීම සතුටට කරුණකි. මේ විෂය සම්බන්ධයෙන් ලියවී ඇති පොතපත ඉතාම සීමිත වන බැවින් මෙහි වැදගත්කම හා වටිනාකම වැඩිය. මෙම ග්‍රන්ථය මගින් ඉදිරිපත් කරන කරුණු පිළිබඳව විහාර හා දේවාලවලට සම්බන්ධ සැම දෙනාටම එකසේ වටිනා කමින් යුතු කරුණු බව සතුටින් සඳහන් කරමි.

සිංහල මාධ්‍යයෙන් මෙම පොතෙන් පැහැදිලි කරන කරුණු තේරුම් ගතහැකි පරිදි සරල, සිත්ගන්නා සුළු භාෂා ශෛලියකින් ලියා ඇත. මෙම පොතේ විෂය කරුණු භික්ෂූන් වහන්සේලාට වගේම බෞද්ධ කටයුතු දෙපාර්තමේන්තුවේ නිලධාරීන්ට හා මෙම විෂය හා සම්බන්ධවන සියළු දෙනාට එකසේ ප්‍රයෝජනවත් ලෙස ඉදිරිපත් කර ඇත.

කතුවරයා තුළින් ඉදිරියේදී මෙවැනි තවත් නිර්මාණ එළි දකීවා යන්න මගේ පැතුමයි.

**චන්ද්‍රප්‍රේම ගමගේ**
බෞද්ධ කටයුතු කොමසාරිස් ජනරාල්
බෞද්ධ කටයුතු දෙපාර්තමේන්තුව
අනගාරික ධර්මපාල මාවත,
කොළඹ 07.

# සංඥාපනය

මීට කලකට පෙර මා විසින් ලියන ලද මෙම ග්‍රන්ථය ලිවීමට සිත්වූයේ මෙම විෂය සම්බන්ධව ලියැවුන සිංහල පොත් සොයා ගැනීම දුෂ්කර වීමත්, මෙය මා සිත් ගත් විෂයක් වීමත් නිසාය. මෙම විෂය සම්බන්ධව ඉංග්‍රීසි භාෂාවෙන් වුවද පළවූ පොතක් සොයා ගැනීම අපහසුය. ලංකාවේ බෞද්ධ විහාර සන්තකව බොහෝ ඉඩම් සහ දේපළ ප්‍රමාණයන් තිබෙන නිසා ඒ ආශ්‍රිතව ඇති වන ආරවුල් සංඛ්‍යාවද ඉහල ගොස් තිබෙන හෙයින් මේ සම්බන්ධව තිබෙන නෛතික තත්ත්වය පිළිබඳව අවබෝධයක් ලබා ගැනීම කාලීනව සෑම අයෙකුටම ප්‍රයෝජනවත් වනු නිසැකය.

වර්ෂ කීපයකට ප්‍රථම ප්‍රකාශයට පත් කරන ලද මෙම ග්‍රන්ථයේ සියලු මුද්‍රණයන් සීඝ්‍රයෙන් අලෙවි වීම නිසා නැවත වතාවක් මෙම ග්‍රන්ථය පළ කිරීමට සිදු වී තිබේ. විශේෂයෙන් නීතිඥවරුන්ට හා සංඝයා වහන්සේලාට මෙය ප්‍රයෝජනවත් ග්‍රන්ථයකි. සෑම විහාරස්ථානයකම තිබිය යුතු අත් පොතක් ලෙස මෙම පොත නිර්දේශ කළ හැකි ය.

මෙම ග්‍රන්ථය හොඳින් මුද්‍රණය කර දුන් සමයවර්ධන මුද්‍රණ ශිල්පියෝ (පෞද්ගලික) සමාගමටත්, පෙරවදනක් සපයා දුන් චන්ද්‍රප්‍රේම ගමගේ මහතාටත් ඒ සම්බන්ධව සහාය දුන් සියළු දෙනාටත් මම ස්තුතිවන්ත වෙමි.

**නීතිඥ ලක්ෂ්මන් විජේසිංහ**

ආශ්‍රිත පොත් : ශ්‍රී ලංකා නීති වාර්තා,
සතිපතා නීති වාර්තා, නව නීති වාර්තා
අදාල අනපනත් ප්‍රයෝජනවත් විය.

54/7, 1 වන පටුමග,
කටුබැද්ද,
මොරටුව.

# පටුන

## පළමු පරිච්ඡේදය



## දෙවන පරිච්ඡේදය



## තුන්වන පරිච්ඡේදය

## හතර වන පරිච්ඡේදය



## පස්වන පරිච්ඡේදය



## සයවන පරිච්ඡේදය

# I

# හැඳින්වීම

බුදුන් වහන්සේගේ පරිනිර්වාණයෙන් පසුව පැවැත්වූ තෙවන ධර්ම සංගායනාවේ ප්‍රතිඵලයක් ලෙස ලංකාව ඇතුළු තවත් රටවල් කීපයකට බුදුන් දෙසූ ධර්මය ඇදහීමට හැකියාව ලැබුනි. එම අවස්ථාව ලැබුණේ එකල ඉන්දියාවේ විසූ අශෝක අධිරාජ්‍යයාගේ ධර්ම දූත සේවයේ ප්‍රතිඵලයක් ලෙසය. අශෝක අධිරාජ්‍යයා මෙම උසස් ක්‍රියාව කළේ බුදු දහම ලොව ව්‍යාප්ත ආගමක් බවට පත්කිරීමේ මහඟු බලාපොරොත්තුව සිහි තබා ගෙනය. මෙහි ප්‍රතිඵලයක් ලෙස ලංකාද්වීපයටද බුදු දහමෙහි ආභාෂය ලබා ගත හැකි විය. ලක්බිමට බුදු දහම රැගෙන පැමිණියේ මිහිඳු මාහිමියන්ය.

ලංකාවේ වංශ කථාවල සඳහන්වන ආකාරයට මිහිඳු මාහිමියන් ලංකාවට පැමිණීමට පෙරද මෙහි බුදු දහම ගැන ජනතාව දැනසිටියාට කිසිම සැකයක් නැත. හේතුව බුදුන් වහන්සේ ජීවත්ව සිටින කාලයේ උන්වහන්සේ ලංකාවට වැඩිය බවට ඓතිහාසික සාධක තිබීමයි. මිහිඳු මාහිමියන් ලක්දිවට ධර්මය රැගෙන ඒමෙන් පසුව එයට රාජ්‍ය අනුග්‍රහය සෑම රාජ්‍ය පාලකයෙකුගෙන්ම ලැබුණු නිසා එම බෞද්ධ සංකල්ප හා බෞද්ධ නීති සංඝයා වහන්සේලා අතර බෙහෙවින් ප්‍රචලිත වීමත් ඒවාට අනුකූලව කටයුතු කිරීමත් ආරම්භ විය.

ඉන්පසු ලංකා ඉතිහාසයෙහි අවුරුදු ගණනාවක් බුදුදහම අඛණ්ඩව පාරම්පරිකව පිළිගත් ධර්මය බවට පත්විය. මෙම කාලය අතරතුර බුදුදහමෙහි පැවැත්මට හා එහි දියුණුවට විවිධ අවස්ථාවල විශාල වශයෙන් බාධා පැමිණ ඇත.

ලක්දිව පෙරදිග ජාතීන් විසින් රාජ්‍ය පාලනය කිරීමත් එසේම පෘතුගීසීන්, ලන්දේසින් හා ඉංග්‍රිසින් ආදි විවිධ අන්‍ය ජාතිකයින්ද මෙම ලක්දිව පාලනය කර තිබීමත් මෙයට හේතුවයි.

වර්ෂ 1815 මාර්තු 02 වන දින ඉංග්‍රීසීන් විසින් මුළු ලංකාද්වීපයම තමන්ගේ පාලනය යටතට ගන්නා අවස්ථාවේදී මහා බ්‍රිතාන්‍ය වෙනුවෙන් රොබට් බ්‍රවුන්රිග්ද, උඩරට ප්‍රදේශ වල වැසියන් වෙනුවෙන් අධිකාරම්වරු, දිසාවේවරු හා උඩරට වෙනත් ප්‍රධානින් අතර ගිවිසුමක් ඇති කර ගන්නා ලදී. එම උඩරට ගිවිසුමේ ඇති එක් වගන්තියකින් ශ්‍රී ලංකාවේ බුද්ධ ශාසනය ආරක්ෂා කර දෙන බවට ප්‍රතිඥා දී ඇත්තේ මෙම ආකාරයටයි. එහි 05 වන වගන්තිය මෙසේය.

"මෙකී රටවල (සිංහලේ) මුලාදෑනින් හා වැසියන් විසිනුත් අදහන්නා වූ බුද්ධ ශාසනයද දේවාලගමද කඩකළ නොහැකිව පවත්වන්න ඕනෑව සහ එකී කටයුතුද සංඝයාද විහාරස්ථාන ද දේවාලද පවත්වන්න හා ආරක්ෂාකරන්නත් ඕනෑය."

කෙසේ වුවද ඉංග්‍රීසින් හට මෙම ප්‍රතිඥාව දිගටම අනුගමනය කළ නොහැකි විය. ඊට හේතුව වූයේ ඔවුන්ගේ නොදැනීම අකැමැත්ත හා මිෂනාරි වරුන්ගේ බලපෑමයි. එසේම ඔවුන්ගේ අනුග්‍රහයද බුද්ධ ශාසනය සඳහා නොලැබුනි. පසුව ඉංග්‍රිසි පාලකයින් ක්‍රම ක්‍රමයෙන් ඉංග්‍රීසි නීති සංකල්පයන් මෙම බුද්ධ ශාසන නීති ක්‍රමයට ඇතුල් කරන්නට විය. ලංකාවේ එතෙක් රැගෙන ආ බෞද්ධ විහාර සතු සාංඝික දේපළ ක්‍රමය එනම් විහාර සතු දේපළ ක්‍රමය ඔවුන්ට තේරුම් ගැනීමට නොහැකි විය. එනිසා ඔවුන් එතෙක් දැන සිටි ඉංග්‍රීසි භාර සංකල්පය මෙහි ක්‍රියාත්මක කරන්නට විය. භාර සංකල්පය යනු බෞද්ධ විහාර දේපළ පාලනය කිරීම සඳහා භාරකරුවෙකු පත් කිරීමයි.

ඉංග්‍රීසීන් විසින් ඉංග්‍රීසි නීතිය ලංකාවට හඳුන්වාදීමට පෙරද භාරයක ස්වරූපය ගන්නා පැවරීම් තිබුණි. අතීතයේ දේපළ සංඝයා සඳහා පූජා කර ඇත. භික්ෂූන්ට වාසස්ථාන පූජා කර ඇත. ලෙන් පූජා කර ඇත. පසුව ලෙන පුද්ගලයෙකු වශයෙන් සලකා ඇත. ලෙනට ඉඩම් පූජා කර ඇත. "මෙම ලෙනට කුඹුරු කැබැල්ලක් පූජා කරන ලදී" යනුවෙන් මුලදී ඉඩම් පූජා කර ඇත. වර්ෂ 1815 වනතෙක් තිබූ මේ ආකාරයේ සාංඝික ක්‍රම පසුව ඉංග්‍රීසි නීතියට අනුව වෙනස් විය. 1815 ට පෙර ඉඩම් ලෙන්වලට පූජා කර ඇත. පසුව ඉංග්‍රීසි පාලකයන් විසින් ඉංග්‍රීසි භාර නීති සංකල්ප මේ සඳහා අනුගමනය කර ඇත.

එතෙක් තිබුණු තත්ත්වය මේ නිසා වෙනස් විය. එතෙක් තිබුණු තත්ත්වය වූයේ විහාර දේපළ වලට නියම හිමිකරුවෙකු නොවීමයි. මෙයින් කළේ විහාර දේපළ සඳහා යමෙකු අයිතිකරුවෙකු නොකර අයිතිකරුවෙකු ලෙස පත්කිරීමයි. විහාර දේපළ විහාරය සඳහා පූජා කරන ලද්දක් විය. නමුත් මෙම නව සංකල්පය නිසා විහාර දේපළ සඳහා භාරකරුවෙකු පත් විය. මෙයින් නොනැවතුන ඉංග්‍රීසි පාලකයෝ මෙම දේපළ ලියාපදිංචි කිරීම සඳහාද පනතක් පැනවීය. එම පනත 1856 අංක 10 දරණ විහාර දේපළ ලියාපදිංචි කිරීමේ ආඥා පනතයි. මෙම පනතට අනුව උඩරට ප්‍රදේශයේ සියළුම විහාර දේපළ බද්දෙන් නිදහස් කිරීමත් එසේම ඒවා ලියාපදිංචි කිරීමත් කළ හැකි විය. පසුව 1899 අංක 01 දරණ පනතින් විහාර ස්ථානය සතු සාංඝික දේපළ ඇරීම සඳහා ගිහි භාරකරුවෙකු පත් කරන ලදී. මේ අනුව විහාර දේපළ සඳහා භාරකරුවෙකු ලෙස භික්ෂූන් වහන්සේ කෙනෙකු මෙන්ම ගිහි අයකු පවා පත් කළ හැකි විය.

මේ සියල්ලේම ප්‍රතිඵලයක් ලෙස විහාර හා දේපළ සම්බන්ධව වැදගත් සන්ධිස්ථානයක් ලෙස අද දක්වාම ක්‍රියාත්මක වන 1931 අංක 19 දරන බෞද්ධ විහාර හා දේවාලගම් පනත බිහිවීමෙන් එතෙක් සම්බන්ධව තිබූ නීතිය නිරවුල් වීමත් හා නිශ්චය වීමත් සිදු විය. එම පනත හා ඒ ආශ්‍රයෙන් අධිකරණ තීන්දු මගින් විකාශනය වූ නීතිය අද දක්වා භාවිතා වේ. මෙම ග්‍රන්ථයෙන්

විග්‍රහ කොට දැක්වෙන්නේ මෙම පනත විසින් පැහැදිලි කරන නීතියත් එම නීතිය ආශ්‍රය කොට ගෙන මේ දක්වා අධිකරණ තීරණ මගින් විකාශනය වූ බෞද්ධ විහාර හා දේපළ සම්බන්ධව නීතියත්ය.

# බෞද්ධ විහාර හා දේවාලගම් පනතේ අදාලත්වය

ලංකාවේ බෞද්ධ විහාරයක එනම් පන්සලක නෛතික ආරවුලක් ඇතිවූ විටක එම ආරවුල විසඳීම සඳහා අදාල කර ගත හැකි මූලික නීතිය අඩංගු වන්නේ 1931 අංක 19 දරණ බෞද්ධ විහාර හා දේවාලගම් පනතේය. මින් ඉදිරියට මෙය සමහර තැන්වල "පනත" යනුවෙන් විස්තර කරනු ලබයි. ආරවුලක් විසඳීමේදී මෙන්ම යම් කිසි නෛතික ක්‍රියා මාර්ගයක් ගැනීමේදීද මෙම නීතිය අදාල කර ගත හැක.

ලංකාවේ ඇති සෑම පන්සලක්ම මෙම පනතේ නීති යටතට ඇතුළත් වන්නේද යන්න සොයා බැලිය යුතුය. එම පනතේ ඇතුළත් 03 වන වගන්තියෙන් මෙසේ ප්‍රකාශ කරයි.

"මෙම පනතේ ඇති විධි විධාන ලංකාවේ ඇති සෑම පන්සලකටම අදාල කර ගත හැකිය. නමුත් ඇමතිවරයාට ගැසට් නිවේදනයක් මගින් මෙම නීතියෙන් දළදා මාලිගාව, ශ්‍රී පාද ස්ථානය, අටමස්ථානය හැර අතික් ඕනෑම පන්සලක් නිදහස් කළ හැකිය."

මේ අනුව බලන විට පොදුවේ සෑම පන්සලක් සඳහාම මෙම පනතේ නීතිය බලපාන බව පෙනේ. පනතේ 4(1) වගන්තියට අනුව සෑම පන්සලකටම අයත් දේපළවල පාලනය මෙම පනත යටතේ පත්කරන ලද භාරකරුට බාරවෙයි. පනතේ 4(1) වගන්තියේ ක්‍රියාකාරිත්වයෙන් නිදහස් කරන ලද එහෙත්, මුළු පනතේ ක්‍රියාකාරිත්වයෙන් නිදහස් නොකරන ලද පන්සල් දේපළ "පාලක විහාරාධිපති" (Controlling Viharadhipathi) යන නමින් හැඳින්වෙන ඒ පන්සලේ විහාරාධිපති වෙත බාරවෙයි.

"පන්සලක්" යනුවෙන් විස්තර වනුයේ විහාරයක්, දගැබක්, දේවාලයක්, කෝවිලක්, ආවාසයක් හෝ බෞද්ධයන් විසින්

වන්දනාමාන කරන ඕනෑම ස්ථානයක් සහ දළදා මාලිගාව, ශ්‍රී පාද ස්ථානය, අටමස්ථානය ඇතුළත් වන බව පනතේ සඳහන් වේ."

කෝවිලක්, දේවාලයක් වැනි තැන්ද මේ අනුව පන්සලක් යන නිර්වචනය තුළට වැටෙන නිසා එම ස්ථාන සඳහාද 'පන්සල' යන නිර්වචනය යොදා ගෙන මෙම පනතේ නීතිය අදාළ කර ගත හැකිය. (පනතේ (4) වන වගන්තියට යටත්ව).

**මොරොන්තුඩුවේ ශ්‍රී ඥානේශ්වර ධම්මානන්ද නායක තෙර එදිරිව බද්දේගම පියරත්න නායක තෙර** (59 නව නීති වාර්තා 412) නඩුවේදී ටී. එස්. ප්‍රනාන්දු විනිසුරු විසින් ප්‍රකාශ කර සිටියේ මාලිගාකන්ද විද්‍යෝදය පිරිවෙන 'පන්සල' යන නෛතික නිර්වචනයට අයත් නොවන බවත් ඒ නිසා එම ආයතනයට මෙම පනතේ නීතිය අදල නොවන බවත්ය. ඊට හේතුව වූයේ මෙම පිරිවෙන බෞද්ධ භික්ෂූන් වහන්සේලා සඳහා පූජා කර තිබුනේ බෞද්ධ අධ්‍යාපනය වැඩි දියුණු කිරීම සඳහායි. බෞද්ධ අධ්‍යාපනය දියුණු කිරීම පරමාර්ථය කරගත් බෞද්ධ ආයතනයක් පන්සලක් නොවන බව මෙහිදී තීරණය විය.

මේ අනුව පැහැදිලි වන්නේ පොදුවේ ලංකාවේ ඇති සෑම පන්සලකටම එනම් බෞද්ධ වැඳුම් පිදුම් ලබන ස්ථානයකටම මෙම පනතේ නීතියත් ඒ හා සම්බන්ධ අනිකුත් නීති පනත් හා ඒ අනුව නඩු තීන්දු ආශ්‍රයෙන් විකාශනය වී ඇති නීතිය බලපාන බවයි.

# අර්ථ නිරූපන වගන්තිය

මුළු පනත පුරාම දිවයන, එසේම අර්ථය පැහැදිලි කරගත යුතු වචන කිහිපයක් මෙම පනතේ අර්ථ නිරූපන වගන්තියෙහි පැහැදිලි කර ඇත. එය පනතේ දෙවන වගන්තියයි. එසේ අර්ථ නිරූපනය කර ඇති වචන විවිධ නඩු තීන්දු මගින් තවත් පැහැදිලි කර දී ඇත. එම වචන කිහිපයක් විග්‍රහ කර බැලීම මූලික වශයෙන් ප්‍රයෝජනවත් විය හැකිය.

"පන්සල" පන්සල යන්නට, දගැබ, විහාරය, දේවාලය, කෝවිල, ආවාසය හෝ බෞද්ධයන් විසින් වැඳුම් පිදුම් කරනු ලබන ඕනෑම ස්ථානයක් සහ දළදා මාලිගාව, ශ්‍රී පාද ස්ථානය සහ අනුරාධපුරයේ අටමස්ථානය ඇතුළත් වේ.

සාමාන්‍ය බෞද්ධ ජනතාව සහ අනිකුත් ගිහි අය පන්සල යන්නට බෞද්ධ ස්වාමීන් වහන්සේලා වැඩ වසන විහාර හා දාගැබ් වලින් සමන්විත ස්ථානයක් පන්සලක් ලෙස හැඳින්වුවද මෙම නීතිය අනුව කෝවිලක් හා දේවාලයක්ද පන්සලක් ලෙස අර්ථ නිරූපනය කර ඇත.

"පන්සල" යන අර්ථ නිරූපනය ඉතා පුළුල් එකක් බව මෙයින් පැහැදිලිවේ. රොමානිස් ප්‍රනාන්දු එ. විමලසිරි හිමි (53 නව නීති වාර්තා 245) නඩුවේදී බස්නායක විනිසුරු ප්‍රකාශ කළේ මෙසේය. "පන්සලක් නිර්මාණය වීම සඳහා විශේෂ ආකාරයක ගොඩනැගිල්ලක් හෝ ගොඩනැගිලි තිබීම අවශ්‍ය නොවේ. මෙම අර්ථ නිරූපනය ඉතාම පුළුල් එකකි." යනු එතුමාගේ අදහස විය.

ගුණරත්න හිමි එ. ඩබ්ලිව්. එස්. නායක හිමි (54 නව නීති වාර්තා 391) නඩුවේ කරුණු අනුව පැමිණිලිකරුගේ පන්සල 1942 යුද්ධය නිසා යුධ කටයුතු පිණිස රජයට පවරාගත්තේය. එම පන්සල් භූමිය නැවතත් 1948 පැමිණිලිකාර විහාරාධිපති හිමිට භුක්තිය ලැබුණි. මෙම කාලය තුළ එම පන්සල් භූමිය නැවත පූජා

භූමියක තත්ත්වයට ගෙන ඒමට නොහැකි වන ආකාරයට නටබුන් වී තිබුණි. මෙහිදී විසඳිය යුතු වූයේ ඉහත සඳහන් කාලය තුළ එම පන්සල නටබුන් වී තිබීම මගින් එම පන්සලේ අනන්‍යතාවය (Identity) හා ස්වභාවය නැති වී තිබුනේද යන්නයි. මෙහිදී ශ්‍රේෂ්ඨ විනිසුරු විසින් තීරණය කර සිටියේ "පන්සලෙන් එම පැමිණිලිකාර විහාරාධිපති හිමි හෝ අනිකුත් භික්ෂූන් වහන්සේලා එම භූමිය රජයට ගත් කාලය තුළ එම භූමියෙන් නැවත නොපැමිණෙන ලෙස, එනම් ස්ථිර ලෙස ඉවත්ව ගොස් සිටියේ නැත. පසුව එහි පැමිණි උන්වහන්සේලා එම පන්සල් භූමිය නැවත යථා තත්ත්වයට ගෙන ඒමට උත්සාහ ගෙන ඇත. එසේම පනතේ 02 වන වගන්තියේ "පන්සල" යන අර්ථ නිරූපන තුළට "බෞද්ධ වැඳුම් පිදුම් ලබන ස්ථානයක්" (Place of Buddhist worship) ඇතුළත් වේ." මේ හේතුවෙන් මෙම පන්සල් භූමිය පන්සල යන පදය තුළට ගත හැකි බව තීරණය විය. මෙම පන්සලේ භික්ෂූන් වහන්සේලා එය තාවකාලිකව අතහැර ගියේ නැවත පැමිණෙන බලාපොරොත්තුවෙනි. එම ස්ථානයේ තිබිය යුතු පන්සලක ස්වභාවය මෙමගින් කඩ වී තිබුණේ නැත.

යම් ගොඩනැගිල්ලක් භික්ෂූන් වහන්සේලාගේ සහ ගිහියන්ගේ බෞද්ධ අධ්‍යාපනය දියුණු කිරීම සඳහා පූජා කර ඇති අවස්ථාවක එම භූමිය පසුව වන්දනාමාන කිරීම සඳහා යොදා ගත්තද එය පන්සල යන අර්ථ නිරූපනය තුළට නොවැටෙන බව ටී. එස්. ප්‍රනාන්දු විනිසුරු මොරොන්තුඩුවේ ශ්‍රී ඥානේශ්වර ධම්මානන්ද නායක තෙර එ. බද්දේගම පියරත්න නායක තෙර (59 නව නීති වාර්තා 412) නඩුවේදී තීරණය කර ඇත. මෙම නඩුවට අදාළ ස්ථානය වූයේ මාලිගාකන්දේ විද්‍යෝදය පිරිවෙනයි. මෙම පිරිවෙන වර්තමානයේ සුප්‍රසිද්ධ පන්සලක් ලෙස භාවිතා කළද, 1958 දී තීරණය වූයේ එය පන්සල යන නෛතික අර්ථ නිරූපනය තුළට නොවැටෙන බවයි. එසේම තව දුරටත් තීරණය වූයේ මෙහිදී පුණ්‍ය භාර ආඥා පනත යටතේ වලංගු පුණ්‍යභාරයක් නිර්මාණය වී ඇති බවත්, එසේම එය බෞද්ධ විහාර හා දේවාලගම් පනත මගින් පාලනය නොවන බවත්ය. ඊට හේතුව එය බෞද්ධ අධ්‍යාපනය සඳහා පූජා කර තිබීමයි. එහි අරමුණ වූයේ අධ්‍යාපනය ලබා දීමයි. මේ නිසා යම් ස්ථානයක් පන්සලක්ද නැද්ද යන්න

තීරණය කිරීමේදී එහි ඇති ගොඩනැගිලි දෙස බලා හෝ එහි බාහිර පෙනුම දෙස බලා තීරණය කිරීමට වඩා එහි අභ්‍යන්තරය සොයා බැලිය යුතු බව මෙයින් පෙනේ. මේ සඳහා සොයා බැලිය යුතු කරුණු කීපයක් ඇත. එනම් :

(අ) එම ස්ථානය බෞද්ධ වැඳුම් පිදුම් ලබන ස්ථානයක්ද,

(ආ) එම ස්ථානය සාංඝික කර ඇති අරමුණු, එනම් පූජා කර ඇති අරමුණ කුමක්ද යන්න සොයා බැලිය යුතුය.

මෙම කරුණු දෙක මූලික වශයෙන් සොයා බැලීම තුළින් එය පන්සලක් ද යන්න තීරණය කර ගත හැකිය. අදාල ස්ථානය බෞද්ධ වැඳුම් පිදුම් ලබන ස්ථානයක් නම් එය "පන්සල" යන අර්ථ නිරූපනය තුළට ගත හැකිය.

බුද්ධරක්ඛිත හිමි සහ විජේවර්ධන (62 න.නී.වා. 49) නඩුවේදී බෞද්ධ විහාරයක් නෛතික පුද්ගලයෙකු නොවන බව තීරණය කර ඇත.

**විහාරාධිපති (Viharadhipathi)** - විහාරාධිපති යනුවෙන් "වාසික හෝ නිර්වාසික වුවද පන්සලක ප්‍රධාන භික්ෂුව (Principal Bikku) අදහස් වන බව පනතේ අර්ථ නිරූපනයෙහි සඳහන් වේ. පනතේ "විහාරාධිපති" යන වචනය නිතරම භාවිතා කර තිබුණද ප්‍රායෝගික ලෙස නීතිය ක්‍රියාත්මක වීමේදී නඩු තීන්දු වල හා නඩු වාර්තා වල විහාරාධිපති යන වචනය සමග ඒ වෙනුවට යොදා ඇති තවත් වචනයකි "ප්‍රධාන භික්ෂුව" (Chief Incumbent) යන වචනය. මෙම වචන දෙකේ අර්ථය සමානය.

භික්ෂුවක් "පාලක භික්ෂුවක්" (Presiding Priest) හෝ "වාසික භික්ෂුවක්" (Resident Priest) විය හැකිය. එසේ නැත්නම් නිර්වාසික භික්ෂුවක් (Non-Resident Priest) හෝ ආගන්තුක භික්ෂුවක් විය හැකිය. පාලක භික්ෂුව විහාරාධිපති ලෙස හඳුන්වයි. සමහර විට මෙය (Incumbent) "අධිපති" ලෙසද හඳුන්වයි. මෙයට "අධිකාරී භික්ෂුව" ලෙසද සමහර නඩු තීන්දුවල විස්තර කර ඇත. (26 න. නී. වා 257) (28 න. නී. වා 385)

අධිකාරි භික්ෂුවක්, නාම යෝජනාවක් මගින් පූර්වගාමී භික්ෂුවක් (Predecessor) විසින් පත්කරනු ලබයි. එසේ නැත්නම් පරම්පරාවේ ශිෂ්‍යයන් අතරින් කෙනෙකු තෝරාගනු ලබයි. මෙය තනි ධූරයකි. බෙදිය නොහැකිය.

"විහාරාධිපති" කෙනෙකු අදළ විහාරයේ හා එහි දේපළ වල පාලනය කරගෙන යන අතරතුර, විහාරයේ සිටින වාසික භික්ෂුවකට මේ ආකාරයේ බලතල නොලැබේ. වාසික භික්ෂුව විහාරයේ ජීවත්වන අතර එහි වැඩකටයුතු වලට උදවු දෙයි. ඔහු සාමාන්‍යයෙන් විහාරාධිපති කෙනෙකුට වඩා නිලයෙන් පහත් වේ. ආගන්තුක භික්ෂුවක් හෙවත් නිර්වාසික භික්ෂුවක් එක් නිශ්චිත විහාරයක ස්ථිර ලෙස පදිංචි නොවේ. උන්වහන්සේ එක් විහාරයක තාවකාලික ලෙස ටික කාලයක් නැවතී පසුව වෙනත් විහාරයකට යයි. සමහර විට උන් වහන්සේ එම පන්සලෙහි විවිධ සේවාවන්ට උදව් කරයි. (පුංචිරාළ එ. ධම්මානන්ද තෙර) (48 නව නීති වාර්තා 11).

1931 විහාර හා දේවාලගම් පනතට පෙර මේ සම්බන්ධව අදල නීතිය වූයේ 1889 අංක 01 දරන පනතයි. 1931 ට පසු විහාරාධිපති කෙනෙකු ලෙස හැඳින්වූ භික්ෂුවක් 1931 ට පෙර හැඳින්වූයේ අධිකාරී භික්ෂුවක් (Incumbent) ලෙසයි.

මෙම පනතේ මේ සමගම භාවිතා කර ඇති තවත් වචනයකි "පාලක විහාරාධිපති" (Controlling Viharadhipathi) යන පදය. මෙම පදයෙන් අදහස් වනුයේ කුමක්ද? පාලක විහාරාධිපති යන පදය යොදු ඇත්තේ හුදෙක් එම භික්ෂුවට එම විහාරයේ විවිධ පාලන කටයුතු සඳහා සහභාගි විය හැකි බැවිනි.

එහෙත් පනත සියුම් ලෙස පරීක්ෂා කිරීමේදී පෙනී යන්නේ මෙම පාලක විහාරාධිපති යන යෙදුම පාවිච්චි කර ඇත්තේ විශේෂ හේතුවක් නිසා විය හැකි බවයි. එනම් කලින් සාකච්ඡා කර ඇති පරිදි සමහර පන්සල් මෙම පනතේ 4(1) වගන්තියේ ක්‍රියාකාරිත්වයෙන් නිදහස් කළ හැකි නිසා එසේ පනතේ නීතියෙන් නිදහස් කරන ලද පන්සලක එහි දේපළවල කළමනාකරනය එහි

විහාරාධිපති මත පැවරේ. ඔහු **පාලක විහාරාධිපති** ලෙස හැඳින්විය යුතුය. උදහරණ ලෙස,

පනතේ 20 වැනි වගන්තියට අනුව බෞද්ධ විහාරයක් සතුව ඇති නිශ්චල හා චංචල දේපළ එම විහාරයේ භාරකරු හෝ **පාලක විහාරාධිපති** මත පැවරෙන බව සඳහන් වේ. පනතේ 18 වන වගන්තියේ භාරකරු හෝ පාලක විහාරාධිපති කෙනෙකු විසින් නඩු පැවරිය හැකි බව සඳහන් කර ඇත. පාලක විහාරාධිපති කෙනෙකු වීමට මූලික සුදුසුකම වන්නේ එම භික්ෂුව මුලින්ම විහාරාධිපති කෙනෙකු විය යුතු වීමයි. කෙසේ වුවද පන්සලෙන් ඉවත් වී පිට ජීවත් වන අධිකාරී භික්ෂුවක්(Incumbent) සහ එම පන්සලේ විවිධ කටයුතු පාලනය නොකරන අධිකාරි භික්ෂුවක් පාලක විහාරාධිපති කෙනෙක් විය නොහැකි බව **සුමන තෙරුන්නාසේ එ. සෝමරත්න** (1936.5 සී. එල්. ඩබ්. 37) යන නඩුවේදී තීරණය වී ඇත.

මේ අනුව පෙනී යන්නේ කෙනෙකු පාලක විහාරාධිපති ලෙස හැඳින්වීමට නම් එම භික්ෂුව විසින් මූලික සුදුසුකම් කීපයක් ලබා තිබිය යුතු බවයි. **පළමුවැන්න** - එම පන්සලේ විහාරාධිපති විය යුතුය. **දෙවැන්න** - එහි ජීවත් විය යුතුය. **තුන් වැන්න** - එම පන්සලේ විවිධ කටයුතු පාලනය කළ යුතුයි. මෙම කරුණු කීපය සම්පූර්ණ කරයි නම් උන්වහන්සේට පනත යටතේ පාලක විහාරාධිපති කෙනෙකු සතු සියළුම අයිතිවාසිකම් හා බලතල බුක්ති විඳිය හැකිය. එසේම උන්වහන්සේ පාලක විහාරාධිපති කෙනෙකු ලෙස සැලකිය හැකිය.

**භික්ෂුව (Bhikku)** පනතේ අර්ථ නිරූපනයට අනුව භික්ෂුව යන්නට **උපසම්පද** ලත් භික්ෂූන් වහන්සේ කෙනෙකු මෙන්ම සාමණේර භික්ෂූන් වහන්සේ කෙනෙකු ඇතුළත් වන බව සඳහන් වේ.

කෙසේ වුවද ඉහතින් සඳහන් කළ පරිදි භික්ෂුවක් පාලක, වාසික, නිර්වාසික හෝ ආගන්තුක විය හැකි බව සඳහන් විය. එසේම උපසම්පද හා සාමණේර ලෙසද භික්ෂූන් වහන්සේලා සිටිති.

මේ අනුව පෙනී යන්නේ භික්ෂුව යන වචන සමග මෙම සියළුම හැඳින්වීම් උචිත පරිදි යොදා ගත හැකි බවයි.

භාරකරු (Trustee) යනුවෙන් නීතියෙන් අර්ථ නිරූපනය වන්නේ මෙසේය. "පනතේ විධි විධාන යටතේ පන්සලට පත් කරන ලද භාරකරුවෙකු හැඳින්වේ. ඊට දියවඩන නිලමේ, බස්නායක නිලමේ කෙනෙකු සහ අටමස්ථාන කොමිටිය ඇතුළත් විය හැකිය." පන්සලක භාරකරු පදවියට භික්ෂූන් වහන්සේ නමකට මෙන්ම ගිහි අයෙකුට වුවද පත්විය හැකිය. එහෙත් මෙසේ පන්සල් වල මෙම භාරකරු පදවිය භික්ෂූන් වහන්සේ නමක් දැරීම බොහෝ විට සිදුවේ. පනතට අනුව පන්සලකට පත්කරන ලද භාරකරුවෙකු සංස්ථාගත ආයතනයක් (Corporate Person) නොවන බව හේලි ඒ. නුගවෙල නඩුවේදී (35 න. නී. වා 157) තීරණය වී තිබේ.

කෙසේ වෙතත් භාරකරුවෙකුට නීතිමය පුද්ගල තත්ත්වයක් එනම් සංස්ථාගත පුද්ගල තත්ත්වයක් තිබිය යුතුය. හේතුව භාරකරුවෙකු යනු පන්සලක ප්‍රධානියා වන අතර ඔහුට ගිවිසුම්වලට ඇතුළත්වීමේ, දේපළ දැරීමේ හා නඩු පැවරීමේ හැකියාව තිබෙන බැවිනි.

**පරවේනි පංගුව (Paraveni Panguwa)** - විහාර ගමක හෝ දේවාල ගමක කීප ආකාරයක ඉඩම් කොටස් දක්නට ලැබිණි. ඉන් එකක් වූයේ මෙම පරවේනි රාජකාරි ඉඩම්ය. එනම් පරවේනි පංගුව යනු පන්සලක වැඩ කටයුතු කර දෙමින් කාලයක් තිස්සේ පරම්පරාගතව සිටි කුලී නිවැසියන් (Hereditary Tenants) විසින් තබා ගෙන සිටින ඉඩම් කොටස් හැඳින්වෙන බව පනතේ සඳහන් වේ. මෙම ඉඩම් පරම්පරාවෙන් පරම්පරාවට අයත් වූ අතර ඒවා භුක්ති විඳින අය එම ඉඩම් භුක්ති වින්ද නමුත් ඔවුන් විසින් එම විහාරස්ථානයට අත්‍යවශ්‍ය සේවාවන් ඉටු කරන ලදී.

විහාරස්ථානයේ ඇති විවිධ වැඩකටයුතු සඳහා උදව් දෙමින් එම පුද්ගලයින් පරම්පරාවෙන් පරම්පරාවට භුක්ති වින්ද විහාර දේපළ පරවේනි පංගුව ලෙසින් හැඳින්විය හැකිය.

**පළාත් පාලන අධිකාරිය (Local Authority)** - පළාත් පාලන අධිකාරිය යන්නට, මහ නගර සභා ආඥා පනත යටතේ පිහිටුවා ඇති මහ නගර සභාවක්ද, නගර සභා ආඥා පනත යටතේ පිහිටුවා ඇති නගර සභාවක්ද, හෝ 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා ආඥා පනත යටතේ පිහිටුවා ඇති එවැනි ප්‍රාදේශීය සභාවක්ද සහ ඒ සමානව පිහිටුවා ඇති එවැනි අනිකුත් සභාවක් ඇතුළත් වේ.

**පළාත් සභාව (Provincial Council)** - පළාත් සභාව යන්නට ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 154 (අ) යන ව්‍යවස්ථාව යටතේ පිහිටුවා ඇති පළාත් සභාවක් අදහස් වේ.

# 2

# භාරකරුවන් පත්කිරීම

## (Appointment of Trustees)

ශ්‍රී ලංකාව තුළ උඩරට රාජ්‍ය 1815 දී බ්‍රිතාන්‍යයනට යටත් වීමට පෙර සිටම සියලුම බෞද්ධ විහාරවල පැවැතියේ සාංඝික දේපළ ක්‍රමයයි. මෙම ක්‍රමයට අනුව විහාරයක් සතු ඉඩකඩම්වල අයිතිකරුවෙකු නොසිටි අතර එය සියලුම භික්ෂූන් වහන්සේලාගේ ප්‍රයෝජනය සඳහා පූජා කරන ලද්දක් විය. උඩරට ප්‍රදේශය බ්‍රිතාන්‍යයට යටත් වීමෙන් පසුව ලංකාව පාලනය කළ බ්‍රිතාන්‍ය පාලකයන්ට මෙම නීති තත්ත්වය තේරුම් ගත නොහැකි විය. ඊට හේතුව වූයේ ඔවුන් එවැනි නීති සංකල්පයක් කලින් නොදැන සිටීමයි. එනිසා ඔවුන් කළේ ඔවුන්ගේ ඉංග්‍රීසි නීති සිද්ධාන්ත මේ සඳහා ආරෝපනය කිරීමයි. මේ අනුව භාර සංකල්පය පිළිබඳ ඔවුන්ගේ විග්‍රහය ලංකා නීති ක්‍රමයට ඇතුල් කළේය. මේ අනුව පන්සලකට කරන ප්‍රධානයක් භාරකරුවෙක් භාරයේ ඇති පුණ්‍ය භාර දේපළ ලෙස සලකන්නට විය. මෙම තත්ත්වය නිසා බෞද්ධ විහාර දේපළ සඳහා භාරකරුවන් පත් කිරීමට සිදු විය. භික්ෂුවකට මෙන්ම ගිහි අයෙකුට වුවද භාරකරුවෙකු ලෙස කටයුතු කළ හැකි විය.

පන්සලක භාරකරුවෙකු පත්කිරීමේදී මුලින්ම එම භාරකරුවන්ට ඒ සඳහා අවශ්‍ය සුදුසුකම් තිබිය යුතුය. එම සුදුසුකම්

මොනවාද යන්න පනතේ 11 හා 14 යන වගන්ති වල සඳහන් වේ එනම්:

(අ) එම පත් කිරීමට නියමිත භාරකරු, කලින් විහාරයක් සතු දේපළ සම්බන්ධයෙන් විශ්වාසය කඩකිරීමක් යන වරද නොකළ අයෙකු විය යුතුය. එසේම තම යුතුකම් ඉෂ්ඨ නොකර එම භාරකරු, ධූරයෙන් ඉවත් කළ අයෙකු නොවිය යුතුය. (15 (2) හා 11 (1) යන වගන්ති)

(ආ) ඔහු හොරකමකට, වංචාවකට, ව්‍යාජ ලේඛනයක් සම්බන්ධව, බොරු සාක්ෂි දීමක් සම්බන්ධව හෝ අපකීර්තිමත් අපරාධයකට වරදකරුවෙකු නොවූ අයෙකු විය යුතුය;

(ඇ) රජයේ සේවකයෙකු නොවිය යුතුය;

(ඈ) පාර්ලිමේන්තු මන්ත්‍රීවරයෙකු, පළාත් සභා මන්ත්‍රීවරයෙකු හෝ පළාත් පාලන අධිකාරියක සාමාජිකයෙකු නොවිය යුතුය;

(ඉ) ඔහුගේ වයස අවුරුදු 70 ඉක්මවා ඇත්නම් පත්වීමට පෙර බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්ගෙන් අවසර ගත යුතුය.

මෙම සුදුසුකම් වලින් යුක්ත අයෙකු සොයා ගත නොහැකි නම් විහාරාධිපති කෙනෙකු විසින් නාම යෝජනා කරන ලද වෙනත් පුද්ගලයෙකු බෞද්ධ කටයුතු පිළිබඳ කොටස් රිස්වරය විසින් පත්කර ගත හැකිය. මේ බව පනතේ 14 වන වගන්තියේ සඳහන් කර ඇත. පන්සලක භාරකරුවෙකු ලෙස එම පන්සලේම විහාරාධිපති වහන්සේට පත් විය හැකිය. නැත්නම් වෙනත් කෙනෙකුට ඒ සඳහා පත් විය හැකිය.

සාමාන්‍ය පන්සලක භාරකරුවෙකු වීමට යමෙකුට අවශ්‍ය සුදුසුකම් ඇත්නම්, එම පන්සලේ විහාරාධිපති වහන්සේ විසින් ම එම පුද්ගලයාගේ නම යෝජනා කරමින් ඒ බව බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්ට වාර්තාවක් යැවිය යුතුය. මේ බව පනතේ 10 වන වගන්තියේ සඳහන් කර ඇත.

බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් හට මේ ආකාරයේ වාර්තාවක් ලැබුණු කල ඔහු විසින් එවෙලෙහිම එම පත්වීමට විරුද්ධව කරුණු නැත්නම් පත්වීමේ ලිපියක් එම පුද්ගලයාට යැවිය යුතුය. මෙවන් අවස්ථාවක කිසිම පුද්ගලයෙකුගේ නමක් යෝජනා වී නැත්නම් හෝ පුද්ගලයන් කීප දෙනෙකුගේ නම් එක් වර යෝජනා වී ඇත්නම් බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්ට සුදුසු, යැයි හැඟෙන පුද්ගලයෙකු ඒ සඳහා පත් කළ හැකිය.

සාමාන්‍ය පන්සලක් සඳහා භාරකරුවෙකු පත් කිරීමේදී මෙම ඉහත සඳහන් ක්‍රියා මාර්ගය අනුගමනය කළයුතු අතර එම පන්සල සම්බන්ධව එහි දේවාලයක් ඇත්නම් එම දේවාලය සඳහා භාරකරුවෙකු පත් කිරීමේදී මෙම ක්‍රියා මාර්ගයම අනුගමනය කළයුතු බව පුංචි අප්පුහාමි එ. අප්පුහාමි නඩුවේදී (39 නව නීති වා. 329) තීරණය විය.

බුද්ධරක්ඛිත තෙර එදි. මහා භාරකරු (49 නව. නීති. වා. 325) නඩුවේදී ඩයස් විනිසුරු ප්‍රකාශ කර සිටියේ මහා භාරකරුට (වර්තමානයේ බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්ට) පන්සලක භාරකාර පදවිය සඳහා ඉල්ලීමක් ලද විට ඔහු පහත සඳහන් කරුණු තුන සම්බන්ධව තෘප්තිමත් වන්නේ නම් එම පත්වීමේ ඉල්ලීම භාර ගත හැකි බවය.

(අ) එම නාම යෝජනාව නියමාකාරයට ඉදිරිපත් කර තිබිය යුතුය. උදා:- එය ඉදිරිපත් කළ යුත්තේ විහාරාධිපති කෙනෙකු විසින් නම් පනතේ 10 (1) වගන්තියට අනුව එය නීත්‍යානුකූල විහාරාධිපති කෙනෙකු විසින් ඉදිරිපත් කර තිබිය යුතුය.

(ආ) එම නාම යෝජනාව බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්ට යොමුකර තිබිය යුතුයි.

(ඇ) එම පත්වීම බෞද්ධ විහාර දේවාලගම් පනතේ විධිවිධාන වලට පටහැනි නොවී තිබිය යුතුය යන කරුණු 3 සම්පූර්ණ වන්නේ නම් එම භාරකාර පදවිය සඳහා ලද ඉල්ලීම් පිළිගත හැකි බව මෙම නඩුවේදී තීන්දු විය.

භාරකරුවෙකු විසින් සිය ධූරයේ කටයුතු ආරම්භ කිරීමට පෙර තමාගේ යුතුකම් නිසි පරිදි ඉටු කරන බවට ඇපයක්

(Security) තැබිය යුතු බවද බෞද්ධ විහාර හා දේවාලගම් නීතියේ සඳහන් වේ. එම භාරකරු භික්ෂුවක් නම් එම පෞද්ගලික ඇපය වෙනුවට ඇපකරුවෙකු පත් කිරීම ප්‍රමාණවත් වේ. (13 වන වගන්තිය)

පන්සලක භාරකාර පදවිය සඳහා යම් ආරවුලක් ඇති විටක කළ යුත්තේ එම ආරවුල විසඳෙන තෙක් එම පන්සල සතු දේපළ පරිපාලනය කිරීම සඳහා "තාවකාලික භාරකරුවෙකු" (Provision al Trustee) පත් කිරීමයි. (බුද්ධ රක්ඛිත තෙර එ. මහා භාරකරු) (49 න. නී. වා 345) නඩුවේදී මේ බව ප්‍රකාශ විය.

අල්ගම එ. බුද්ධ රක්ඛිත හිමි (52 න. නී. වා. 150) නඩුවේදී කැළණිය විහාරයේ විහාරාධිපති ධූරය සඳහා භික්ෂූන් දෙදෙනෙකු ආරවුල් කළ අවස්ථාවක ඒ සඳහා මහා භාරකරු විසින් කැළණි විහාරය සඳහා තාවකාලික භාරකරුවෙකු පත් කරන ලදී. මෙම නඩුවේදී අධිකරණය තීරණය කර සිටියේ අධිකරණය මේ සම්බන්ධයෙන් තීන්දුවක් දෙන තෙක් පංසල සතු විහාරය හා දේපළ එම තාවකාලික භාරකරු මත පැවැරෙන බවයි.

එසේම එකී ආරවුලට සම්බන්ධ භික්ෂූන් දෙදෙන සන්තකයේ තිබෙන එම පංසලට අදල විහාර හා දේපළ තාවකාලිකව භාරකරු වෙත භාරදිය යුතු බවයි.

# දළදා මාළිගාවේ භාරකරු පත්කිරීම
## (Trustee for the Dalada Maligawa)

පනතේ 07 වන වගන්තියට අනුව දළදා මාළිගාවේ භාරකරු දියවඩන නිලමේ (Diyawadana Nilame) විය යුතු බව සඳහන් වේ. මෙම වගන්තියේම එම දියවඩන නිලමේතුමාව පත්කළ යුතු ආකාරයද සඳහන් වේ. එනම් දළදා මාළිගාවේ දියවඩන නිලමේතුමා සඳහා යම් පුරප්පාඩුවක් ඇති වූ විටක බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්තුමා විසින් පුරප්පාඩුව ඇතිවී මාස දෙකක් ඇතුළත රැස්වීමක් කැඳවිය යුතුය. එම රැස්වීම සඳහා පහත සඳහන් තැනැත්තන්ට ආරාධනා කළ යුතු බව නීතියේ සඳහන් වේ.

(අ) මල්වත්ත විහාරයේ මහා නායක තෙර හා අස්ගිරිය විහාරයේ මහානායක තෙර;

(ආ) දිසා ලේකම්වරුන්, උප දිසාපතිවරුන් හෙවත් ප්‍රාදේශීය ලේකම්වරුන්;

(ඇ) උඩරට පළාතේ සියලුම දේවාලවල බස්නායක නිලමේ වරුන්; සහ

(ඈ) උඩරට පළාතේ ඇති පන්සල් වල සිටින සියලුම භාරකාරවරුන්.

ඔවුන් සියලු දෙනාම උඩරට පළාතේ (Kandyan Province) අය විය යුතුය. මෙහිදී උඩරට පළාත යනුවෙන් හැඳින්වෙන්නේ කුමන ප්‍රදේශයක්ද යන්න පනතේ විස්තර කර නැත. උඩරට පළාත යන්නට මහනුවර ඇතුලු විශාල ප්‍රදේශයක් අයත් වන බව 1952 අංක 44 දරන ආඥා පනතේ සඳහන් වේ. මේ අනුව එම පනතට අනුව උඩරට පළාත තුළට පහත සඳහන් පළාත් සහ ප්‍රදේශ ඇතුළත් වේ.

(i) මධ්‍යම පළාත (මහනුවර, මාතලේ, නුවරඑළිය යන දිස්ත්‍රික්ක);

(ii) උතුරු මැද පළාත, (අනුරාධපුරය, හා පොළොන්නරුව යන දිස්ත්‍රික්ක);

(iii) ඌව පළාත (බදුල්ල හා මොනරාගල යන දිස්ත්‍රික්ක);

(iv) සබරගමුව පළාත (රත්නපුර හා කෑගල්ල යන දිස්ත්‍රික්ක);

(v) වවුනියා දිස්ත්‍රික්කයේ වෙට්ටිකුලම් ප්‍රදේශය;

(vi) මඩකළපුව දිස්ත්‍රික්කයේ බින්තැන්න පත්තුව, වේගම් පත්තුව හා පනම පත්තුව ප්‍රදේශය;

(vii) ත්‍රිකුණාමල දිස්ත්‍රික්කයේ කට්ටිකුලම් පත්තු ප්‍රදේශය;

(viii) කුරුණෑගල දිස්ත්‍රික්කය, පුත්තලම් දිස්ත්‍රික්කය හා දෙමළ හත් පත්තු ප්‍රදේශය.

කෙසේ වුවද, වර්තමානයේ දියවඩන නිලමේ පත්කිරීමේදී පහත සඳහන් ප්‍රදේශවල විහාර භාරකරුවන්, බස්නායක නිලමේවරුන්, ප්‍රාදේශීය ලේකම්වරුන් ද ඡන්දහිමියන් වශයෙන් සැලකේ.

මහනුවර, නුවරඑළිය, මාතලේ, කුරුණෑගල, අනුරාධපුර, පොළොන්නරුව, වව්නියාව, කෑගල්ල, රත්නපුරය, බදුල්ල හා මොනරාගල යන දිස්ත්‍රික්ක වලද, අම්පාර දිස්ත්‍රික්කයේ සිංහල පත්තුව, ගාලු දිස්ත්‍රික්කයේ හිනිදුම් පත්තුව, මාතර දිස්ත්‍රික්කයේ මොරවක් කෝරළය, පුත්තලම දිස්ත්‍රික්කයේ ආනමඩුව, නවගත්තේගම, කරුවලගස්වැව.

බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් විසින් උඩරට ප්‍රදේශයේ ඉහත විස්තර කළ අයට දියවඩන නිලමේධුරය පුරප්පාඩු වී ඇති බවත් ඒ සඳහා ඉදිරි කටයුතු කිරීම පිණිස රැස්වීමක් සඳහා එම රැස්වීමේ දිනයට මාසයකට පෙර ලියාපදිංචි තැපෑලෙන් ලිඛිතව දැන්වීම යැවිය යුතුය. මෙම රැස්වීමේ මූලාසනය බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් විසින් දැරිය යුතු අතර දැන්වීම් ලැබුනු සියලු දෙනාම පැමිණිය යුතුය. මෙකී රැස්වීමේදී දියවඩන නිලමේ ධූරය සඳහා ඡන්දයක් පැවැත්විය යුතු අතර එය පැවැත්වීමේදී එහි පැමිණි දැන්වීම් ලැබූ සියලුම දෙනාටම තම ඡන්දය පාවිච්චි කිරීමේ බලය තිබිය යුතුය. එසේම එම ඡන්දය රහස් ඡන්දයක් විය යුතුය.

මෙහිදී එක් අයෙකුගේ නම පමණක් මෙම ධූරය සඳහා යෝජනා වී ඇත්නම් ඔහු නව දියවඩන නිලමේතුමා ලෙස පත්කර

ගත යුතුය. පුද්ගලයන් කීප දෙනෙකුගේ නම් යෝජනා වී ඇති විටක ඔවුන් අතර රහස් ඡන්දයක් පවත්වා ඉන් වැඩිම ඡන්ද සංඛ්‍යාවක් ලබා ගන්නා තැනැත්තා දියවඩන නිලමේ ලෙස තෝරාපත් කර ගත යුතුය. දියවඩන නිලමේ කෙනෙකු ලෙස යමෙකු තෝරාපත්කර ගත් විටක ඉන් මාසයක් ඇතුළත බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් විසින් එතුමාට පත්වීමේ ලිපිය භාරදිය යුතුය.

දියවඩන නිලමෙතුමා තෝරා පත්කර ගැනීමේදී මුලින් ම එම ධූරය හිස් වූ තැන් පටන් මාස 02 ක් ඇතුළත රැස්වීමක් කැඳවිය යුතු බවද ඒ සඳහා විවිධ තැනැත්තන්ට දැන්වීම් යැවිය යුතු බවද මුලින් කියවුනි. මෙසේ යවන දැන්වීම් එම යැවිය යුතු කාලය, එනම් මාස 02 ක කාලය පසුවී මෙකී රැස්වීම කැඳවිය හැකිද යන ප්‍රශ්නයත් එය වලංගුද යන ප්‍රශ්නයත්, නුගවෙල එ. රත්වත්තේ., (39 න. නී. වා. 446) නඩුවේදී සාකච්ඡා විය. මෙහිදී තීරණය වූයේ "දියවඩන නිලමේ ධූරයේ පුරප්පාඩුව ඇතිවී මාස දෙකක් පසුවී වුවද රැස්වීමක් කැඳවා එම ඡන්ද විමසීම පැවැත්විය හැකියි. එසේ පැවැත්වීම නීත්‍යානුකූල වේ. මෙබඳු රැස්වීමකට කැඳවන පුද්ගලයෙකුට නිලතල කිපයක් ඇතත් හිමිකම ලබන්නේ එක් ඡන්දයකට පමණි. දියවඩන නිලමේ නිලවරණය සඳහා අටමස්ථාන භාර කරුට හිමිවන්නේ එක් ඡන්දයකි." යන්නයි.

දියවඩන නිලමේ වරයෙකුගේ ධූර කාලය අවුරුදු 10 ක් විය යුතු බව 1981 අංක 18 දරන බෞද්ධ විහාර හා දේවාලගම් සංශෝධන පනතේ වැඩිදුරටත් විස්තර කර ඇත.

ආරම්භයේදී ශ්‍රී දළද මාළිගාවේ දියවඩන නිලමෙගේ පදවි කාලය ජීවිතාන්තය දක්වා දීර්ඝව පැවති නමුත් ඉහතකී සංශෝධිත 1931 විහාර හා දේවාලගම් පනතින් එම පදවි කාලය දස අවුරුද්දකට සීමා කරන ලදී.

දියවඩන නිලමේතුමා තාවකාලිකව දිවයිනෙන් බැහැරව සිටින අවස්ථාවක, ඒ වෙනුවට වැඩබලන දියවඩන නිලමේ වරයෙකු පත්කිරීම සම්බන්ධ විධි විධාන කිසිවක් බෞද්ධ විහාර හා දේවාලගම් පනතේ සඳහන් නොවන බව අප්පුහාමි එ. අප්පුහාමි (28 න. නී. වාර්තා 440) නඩුවේදී තීරණය වී ඇත.

# දේවාලවල භාරකරුවන් පත්කිරීම

## (Appointment of Trustees for Dewalas)

දේවාලයක භාරකරුවෙකු පත්කිරීමේදී සිරිතක් ලෙස බස්නායක නිලමේවරු පත්වෙන දේවාලයක බස්නායක නිලමේවරු (Basnayaka Nilame) ඒ සඳහා පත් වෙති. උදහරණයක් ලෙස මහනුවර නාථ, පත්තිනි, සමන්, ගඩලාදෙනිය විෂ්ණු ආදී දේවාල සඳහා ද, ඇම්බැක්කේ දේවාලය, දෙවිනුවර විෂ්ණු දේවාලය හා කතරගම දේවාලය යනාදී දේවාල සඳහා බස්නායක නිලමේවරුන් පත්කෙරේ.

අනෙකුත් දේවාලයක භාරකරුවෙකු සඳහා පුරප්පාඩුවක් ඇති වූ විටක එම දේවාලය සඳහා භාරකරුවෙකු බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් වරයා මගින් කෙනෙකු පත්කර ගත යුතුය.

බස්නායක නිලමේ කෙනෙකු දේවාලයක භාරකරුවෙකු ලෙස පත් කිරීමේදී ඒ සඳහා නිළවරණයක් පවත්වා බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයා විසින් බස්නායක නිලමේ කෙනෙකු තෝරා පත් කර ගත යුතුය. එසේ තෝරා ගන්නා ආකාරය නීතියේ සඳහන් වන්නේ මේ ආකාරයටය. (පනතේ 08 වන වගන්තිය)

බස්නායක නිලමේ ධුරය සඳහා පුරප්පාඩුවක් ඇති වූ විටක කොමසාරිස් වරයා විසින් එම පුරප්පාඩුව ඇති වූ දේවාලය පිහිටි පරිපාලන දිස්ත්‍රික්කය තුළ රැස්වීමක් කැඳවිය යුතුය. එම රැස්වීම කැඳවිය යුත්තේ එම පුරප්පාඩුව ඇතිවී මාස 03 ක් ඇතුළතය. එම පුරප්පාඩුව ඇති වූයේ උඩරට පළාත තුළ (Kandyan Province) පිහිටි දේවාලයක නම් එම දිස්ත්‍රික්කයේ සිටින සියලුම බස්නායක නිලමේවරුන්ට සහ අදාල නිලධාරීන්ට දැන්වීම් යැවිය යුතුය. උදාහරණයක් ලෙස ප්‍රාදේශීය ලේකම්වරුන්ට දේවාලය පිහිටි ප්‍රදේශයේ සිටින සියලුම පන්සල් වල භික්ෂූන් නොවන භාරකරුවන්ට හා බස්නායක නිලමේවරුන්ටද මහනුවර පරිපාලන

දිස්ත්‍රික්කය තුළ පිහිටි දේවාලයක නම් දියවඩන නිලමේ තුමාටද එම දැන්වීම යැවිය යුතුය. එම රැස්වීම පවත්වන දිනයට මාසයකට පමණ පෙර ලියාපදිංචි තැපෑලෙන් ලිඛිතව එම දැන්වීම් යැවිය යුතු බව පනතේ සඳහන් කර ඇත.

මෙම රැස්වීමේ මූලාසනය කොමසාරිස්වරයා විසින් දැරිය යුතු අතර එයට සහභාගිවන දැන්වීම් ලැබූ සෑම අයෙකුටම ඡන්ද බලය හිමිවන අතර එම නිලවරණය රහස් නිලවරණයක් විය යුතුය. එහිදී එක් පුද්ගලයෙකුගේ නමක් පමණක් බස්නායක නිලමේ ධූරය සඳහා යෝජනා වුවහොත් එම තැනැත්තාව එම ධූරය සඳහා තෝරා පත් කර ගත හැකිය. එසේ නම් කීපයක් මේ සඳහා යෝජනා වී ඇත්නම් ඉන් එක් අයෙකු තෝරා ගැනීම සඳහා නිලවරණයක් පැවැත්විය යුතුය. මෙහිදී වැඩි ඡන්ද ලබා ගන්නා තැනැත්තා බස්නායක නිලමෙතුමා ලෙස තෝරා පත් කර ගත හැකිය. මේ ආකාරයේ ඡන්දයක් පවතිද්දී එක් අයෙකුටවත් වැඩිපුර ඡන්ද ප්‍රමානයක් ලබාගත නොහැකි වුවහොත් එනම් අපේක්ෂකයන් කීප දෙනෙක් සමාන ඡන්ද ලබා ගෙන ඇත්නම් කොමසාරිස්වරයා විසින් දෙවන වරටත් ඡන්දය විමසා කෙනෙකු තෝරාපත් කර ගත හැකිය. කොමසාරිස්වරයා විසින් මේ ආකාරයට තෝරා පත් කර ගැනීම කිරීමෙන් මාසයක් ඇතුළත තෝරා පත් වූ අපේක්ෂකයාට පත්වීමේ ලිපිය භාරදිය යුතුය.

බස්නායක නිලමේ වරයෙකුගේ ධූර කාලය තුළ ඔහුට සිය ධූරය දැරිය හැකිය. එසේම බස්නායක නිලමේ වරයෙකුගේ ධූර කාලය දීර්ඝ කිරීම විහාරයක දේපළ කාර්යක්ෂම ලෙස කළමනාකරණය කිරීම සඳහා හිතකර වේ යයි ජනාධිපතිවරයා විසින් සලකනු ලබන්නේ නම් ජනාධිපතිවරයා විසින් බස්නායක නිලමේ වරයෙකුගේ ධූර කාලය එක් වරකට අවුරුද්ද බැගින් වූ කාලයකට දීර්ඝ කරනු ලැබිය හැකිය. එහෙත් එසේ දීර්ඝ කරනු ලබන කාලවල සමස්තය අවුරුදු 2ක් නොඉක්මවිය යුතුය. ජනාධිපතිවරයා විසින් බස්නායක නිලමේ වරයෙකුගේ ධූරකාලය දීර්ඝ කරනු ලැබ ඇත්නම් මිස එම ධූරයට ඔහු පත් කරනු ලැබූ දිනයෙහි සිට අවුරුදු පහක කාලයක් සම්පූර්ණ කළ විට එම ධූරය

ඇරීම නතර විය යුතුය.

බෞද්ධ විහාරයකට සම්බන්ධ වී තිබෙන දේවාලයකට භාරකරුවෙකු පත්කිරීමේ බලය 1931 විහාර හා දේවාලගම් පනතට අනුව මහා භාරකරුට ඇතිබව පුංචි අප්පුහාමි එ. අප්පුහාමි (39 න. නී. වා. 329) නඩුවේදී තීරණය වී ඇත. වර්තමානයේ මෙම බලය බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් වරයාට පවරා ඇත.

## දේවාලවල කපුරාල

බොහෝ දේවාලවල කපුරාල කෙනෙකුද සිටින බැවින් මෙකී කපුරාල කෙනෙකුව පත්කිරීමේදී කපුකම් කිරීම සඳහා විශේෂ පුහුණුවක් ලැබිය යුතු බැවින් කපු පවුලකින් අයෙකු කපුකමට පත්කළ යුතු වෙයි. බස්නායක නිලමේ කෙනෙකු මේ පත්වීමක් කරන විට අදළ සිරිත් අනුව එසේ කළ යුතුද යන්න සලකා බැලිය යුතුයි. මෙම කපුරාල කෙනෙකුගේ නිලය උරුමයක් වශයෙන් පවුලකට හිමිවන අතර පවුලෙහි අය එයට කෙනෙකු තෝරා යැවීම කරනු ලබයි. බස්නායක නිලමේට සිතුනු අයෙක් ඒ සඳහා පත්කිරීමේ අයිතියක් නැති බව විවිධ නඩු තීන්දු වලදී පැහැදිලි කර ඇත. දේවාලවල කපුරාල පත්කිරීම පිළිබඳ විධිවිධාන විහාර හා දේවාල පනතේ සඳහන් කර නැත.

කුසල් හාමි එදිරිව ඩිංගිරාල (26 න.නි.වා. 283) හිදි තීරණය වූයේ පුද්ගලයෙකුට දේවාලයක කපුරාල කෙනෙකු ලෙස වැඩ කිරීමට පාරම්පාරික අයිතියට (Hereditary Right) අමතරව, බස්නායක නිලමේ විසින් ඔහු පත් කරනු ලැබීමක් ද තිබිය යුතු බවයි.

නුගවෙල බස්නායක නිලමේ එදිරිව මොහොට්ටාල (47 න.නි.වා. 17) නඩුවේදී තීරණය වූයේ දේවාලයේ පාලනය හා සංවිධානය (Control & Management) කිරීම පමණක් බස්නායක නිලමේ කෙනෙකු සතුවන අතර බස්නායක නිලමේට කපුරාල නිලය සඳහා කිසිම පුද්ගලයෙකු බෞද්ධ යැයි කියා පත්කිරීමේ අයිතිය නැති බවයි.

වැරදි හැසිරීමක් (Misconduct) නිසා කළින් සිටි කපුරාල තමාගේ අයිතිය අත්හැරියත්, ඔහුගේ පැවතෙන්නන්ට ඒ හේතුව මත ඒ නිසා අයිතිය අත් නොහැරෙන බව බස්නායක නිලමේ එදිරිව පුංචි බණ්ඩා දිසානායක (77 න.නි.වා.172) හිදි තීරණය වී ඇත.

# අටමස්ථානය සඳහා භාරකරුවෙකු පත්කිරීම

## (Appointment of Trustee for the Atamastana)

අටමස්ථානය, විශේෂයෙන් බෞද්ධ ජනතාව අතර ජනප්‍රිය ස්ථානයකි. මෙය සෑදී ඇත්තේ සුප්‍රසිද්ධ බෞද්ධ පූජනීය ස්ථාන අටක් ඇතුළත්ව තිබීම නිසාය. මේවා නම්:-

(1) බෝමළුව
(2) ලෝවාමහා පාය
(3) රුවන්වැලි සෑය
(4) අභයගිරි වෙහෙර
(5) ථූපාරාමය
(6) ජේතවනාරාමය
(7) ලංකාරාමය
(8) මිරිසවැටිය වේ.

මෙම විහාරස්ථාන අට සඳහා භාරකරු ලෙස අටමස්ථාන කොමිටිය පත්විය යුතු බව පනතේ 9(1) වගන්තියේ සඳහන් කර ඇත. මෙම කොමිටිය පුද්ගලයක් 03 දෙනෙකුගෙන් සමන්විත විය යුතු බවත් ඔවුන් තිදෙනාට භාරකරුවෙකු සතුවන සියළුම සුදුසුකම් තිබිය යුතු බවත් සඳහන් වේ. මෙම සුදුසුකම් මොනවාද යන්න මෙහි කලින් සඳහන් කර ඇත. මෙම තිදෙන අතරින් සභාපති කෙනෙකු පත්කර ගත යුතුය.

අටමස්ථාන කොමිටිය සඳහා පුරප්පාඩුවක් ඇතිවූ විටක මාසයක් ඇතුළත රැස්වීමක් කොමසාරිස් වරයා විසින් කැඳවිය යුතුය. එම රැස්වීමට පහත සඳහන් තැනැත්තන්ට හා ස්වාමින් වහන්සේලාට දැන්වීම් යැවිය යුතුය.

(අ) බෝ මළුවේ නායක හිමි

(ආ) මල්වතු විහාරයේ හා අස්ගිරි විහාරයේ නායක තෙරුන්

(ඇ) ශ්‍රී පාදස්ථානයේ නායක තෙර හා

(ඈ) උඩරට පළාතේ ඇති පන්සල් වල සිටින සියළුම භාරකාර වරුන් හට එසේ දැන්වීම් යවා කැඳවා මාසයක් ඇතුළත එම පුරප්පාඩුව සඳහා තෝරාපත් කරගත යුතුය.

භාරකාරවරුන්ගේ ධූරකාලයන් ගැන සලකා බැලීමේදී පනතේ 12 වන වගන්තියට හිත යොමු කිරීම වැදගත්ය. එහි මෙසේ දැක්වේ. යම් භාරකරුවෙකුට සිය ධූරයෙන් ඉල්ලා අස්වීම, ඉවත් කිරීම හෝ අත් හිටුවීම නොවන්නට ඔහුට අවුරුදු 5 ක ධූර කාලයක් හිමිවේ. එසේම මෙම කාලය අවසානයේදී නැවත පත්වීමේ හැකියාවද හිමිවේ. එසේ වුවද,

(අ) දියවඩන නිලමේවරයෙකුගේ ධූරකාලය අවුරුදු 10 ක් විය යුතුය. තවද,

(ආ) බස්නායක නිලමේ වරයෙකුගේ ධූරකාලය දීර්ඝ කිරීම විහාරයක දේපල කාර්යක්ෂමව කළමනාකරණය කිරීම සඳහා හිතකර වේ යයි ජනාධිපතිවරයා විසින් සලකනු ලබන්නේ නම් ජනාධිපති විසින් බස්නායක නිලමේ වරයෙකුගේ ධූරකාලය එක් වරකට අවුරුද්ද බැගින් වූ කාලයකට දීර්ඝ කරනු ලැබිය හැකිය.

එහෙත් එසේ දීර්ඝ කරනු ලබන කාලවල සමස්තය අවුරුදු 02 ක් නොඉක්මවිය යුතුය.

මෙම තත්ත්වය අනුව පැහැදිලි වන්නේ බස්නායක නිලමේවරයෙකු භාරකරුවෙකු නිසා ඔහුගේ ධූරකාලය අවුරුදු 5 කට සීමාවන බවත් එම කාලය පසුව දීර්ඝ කරගත හැකි බවත්ය.

සියළුම භාරකරුවන් සිය ධූරයන් භාරගැනීමේදී ඒ සඳහා තම යුතුකම් හා වගකීම් නිසි ලෙස ඉටුකරන බවට පොරොන්දුවක් ලෙස සිය පත්වීම භාරගැනීමට පෙර යම්කිසි ඇපයක් (Security) ඉදිරිපත් කළ යුතුය. මෙම ඇපය කොමසාරිස්තුමා වෙත ඉදිරිපත් කළ යුතුය. එම භාරකරු භික්ෂූන් වහන්සේ කෙනෙකු වන අවස්ථාවක ඔහුගේම පෞද්ගලික ඇපයක් (Personal Security) ඉදිරිපත් කිරීමට සාමාන්‍යයෙන් අවශ්‍ය නොවන අතර ඒ සඳහා ඇපකරුවන් (Sureties) එක් අයකු හෝ කීප දෙනෙකු ඉදිරිපත් කිරීම ප්‍රමාණවත් බව පනතේ 13 වන වගන්තියේ විස්තර කර ඇත.

එසේම සිය ධූරයට පත්වී මාස තුනක් ඇතුළත ඇපය ඉදිරිපත් කිරීම පැහැර හැරියොත් හෝ කොමසාරිස්තුමා ඉඩදෙනු ලබන කාලයක් තුළ එය ඉදිරිපත් කිරීම පැහැර හැරියොත් එම තෝරා පත්වූ භාරකරු සිය ධූරයෙන් ඉවත් වූවා සේ සැලකෙන බවද එහි සඳහන් වේ.

# භාරකරු ඉවත්කිරීම හා ධූරය අත්හිටුවීම

## (Suspension and Dismissal of Trustee)

පන්සලක භාරකරු හෝ එහි පාලක විහාරාධිපති (Controlling Viharadhipathi) ඔහු සිටින පන්සල සතු දේපල සම්බන්ධව කරන ලද යම් විශ්වාසය කඩ කිරීමක්, තමාගේ යුතුකම් ඉටුනොකිරීමක් හෝ යම් දුෂ්කෘතයක් (Misfeasance) කර ඇතැයි යම් පැමිනිල්ලක් කොමසාරිස් වෙත ලැබිය හැකිය. එසේ ලද කල්හි ඒ පිළිබඳව කොමසාරිස්වරයා විසින් විභාගයක් පැවැත්වීමේ බලය ඇති බව පනතේ 15(1) වගන්තියේ සඳහන් වේ. එම විභාගය අවසානයේදී එම භාරකරු හෝ පාලක විහාරාධිපති විසින් එම වරද කර ඇතැයි කොමසාරිස් වරයාට එම භාරකරු හෝ පාලක විහාරාධිපති පහ කිරීමට පියවර ගැනීම සුදුසු බව ඔහුගේ මතය වන විට ඒ සඳහා ඇති ප්‍රථම පියවරක් ලෙස එම භාරකරුගේ සේවය හෝ පාලක විහාරාධිපතිගේ සේවය අත්හිටුවිය හැකිය. ඒ සමග ඒ සඳහා චෝදනා පත්‍රයක් ලිඛිතව ඉදිරිපත් කර ඒ සඳහා එම භාරකරුට හෝ පාලක භික්ෂුවට උත්තරයක් දෙන ලෙස නියම කළ හැකිය.

කොමසාරිස්වරයා විසින් හෝ ඒ පන්සල පිළිබඳව යම් සම්බන්ධතාවක් ඇති ඕනෑම පුද්ගලයෙකු විසින් ඉහත සඳහන් කර ඇති යම් චෝදනාවක් සම්බන්ධව එම පන්සල පිහිටා ඇති ප්‍රදේශයේ අධිකරණය වෙත පැමිනිල්ලක් ඉදිරිපත් කර නඩුවක් පැවැරිය හැක. එම චෝදනාව ලබා ඇති භාරකරුට විරුද්ධව හෝ පාලක විහාරාධිපතිට විරුද්ධව එම නඩුව පැවරිය හැකිය.

මෙ චෝදනාව විභාගය කිරීමෙන් පසුව, එම අධිකරණය විසින් පහත සඳහන් විධාන කළ හැකිය.

(අ) එම භාරකරු විසින් හෝ පාලක විහාරාධිපති විසින් යම් නිශ්චිත කාර්යයක් කරන ලෙස විධාන කළ හැකිය.

(ආ) එම භාරකරු හෝ පාලක විහාරාධිපති විසින් එම පන්සලට කර ඇති අලාභ ගෙවන ලෙස තීන්දු ප්‍රකාශයක් කළ හැකිය. එසේම, නඩු ගාස්තු ගෙවන ලෙස විධාන කළ හැකිය.

(ඇ) එම භාරකරු පහ කිරීම සඳහා විධාන කළ හැකිය.

අදාල පන්සලට යම් සම්බන්ධතාවක් ඇති කෙනෙකු එම පැමිණිල්ල ඉදිරිපත් කරන්නේ නම් එම පැමිණිල්ල සමග කොමසාරිස්වරයාගේ සහතිකයක්ද ඉදිරිපත් කළ යුතුය. එම සහතිකයේ පහත සඳහන් කරුණු 2 ගැන සඳහන් කර තිබිය යුතුය.

එනම්:-

(අ) කොමසාරිස්වරයා විසින් එම චෝදනා පිළිබඳව යම් විභාගයක් කර ඇති බව සහ,

(ආ) එම චෝදනා අධිකරණය වෙත ඉදිරිපත් කිරීමට සුදුසු හා යෝග්‍ය බවට කරුණු එම සහතිකයේ සඳහන් වී තිබිය යුතුය.

මෙහිලා ඉහත සඳහන් කර ඇති පරිදි යම් චෝදනාවක් පිළිබඳව පැමිණිල්ලක් අධිකරණය වෙත ඉදිරිපත් කළ හැක්කේ කොමසාරිස්වරයා විසින් හෝ එම පන්සලට යම් සම්බන්ධතාවක් ඇති ඕනෑම අයෙකු විසින් පමණි. මෙහිලා යම් සම්බන්ධතාවක් ඇති ඕනෑම පුද්ගලයෙකු (any Person Interested) ලෙස හඳුන්වන්නේ කවුරුන්ද යන්න සොයා බැලිය යුතුය.

(අ) ඕනෑම පන්සලකට යාමේ අයිතිය ඇති ඕනෑම පුද්ගලයෙකු හෝ

(ආ) යම් පන්සලක පුරුද්දක් ලෙස යම් යම් වන්දනාමාන කටයුතු කිරීම සඳහා පැමිණෙන ඕනෑම පුද්ගලයෙකු

මෙම වගන්තිය යටතේ යම් සම්බන්ධතාවයක් ඇති ඕනෑම පුද්ගලයෙකු ලෙස හැඳින්විය හැකි බව 15(3) වගන්තියේ විස්තර කර ඇත.

මෙම වගන්තිය යටතේ ක්‍රියා කිරීමේදී මහා භාරකාර ආඥා පනතේ භාරය පිළිබඳ තත්ත්වය සහ ගිණුම් විමර්ශනය කිරීම සඳහා

මහා භාරකාරවරයාට පවරා ඇති සියළුම බලතල මෙම ක්‍රියා මාර්ගය සම්බන්ධයෙන් කොමසාරිස් වරයාටද තිබිය යුතු බවත් නීතියේ පැහැදිලිව ප්‍රකාශ කර තිබේ.

පන්සලක භාරකරුට තමන්ට අවශ්‍ය අවස්ථාවක සිය ධූරයෙන් ඉල්ලා අස්විය හැකිය. නමුත් නියමිත ආකාරයට ඉල්ලා අස්වීමක් ඉදිරිපත් කර ඇති අවස්ථාවක එය නැවත ඉල්ලා අස්කර ගත නොහැක.

භාරකරුවකු සිය ධූරයේ වැඩ භාරගැනීම ප්‍රතික්ෂේප කරන අවස්ථාවක, ඔහුගේ මරණය සිදුවන අවස්ථාවක, ධූරය අතහැර යෑම, අයෝග්‍යතාවය (incapacity), ඉල්ලා අස්වීම, ඉවත් කිරීම (Dismissal), අත්හිටුවීම (suspension) හෝ වස්තුභංගත්වය (insolvency) යනාදී අවස්ථාවක ඒ සඳහා අනුප්‍රාප්තිකයෙකු පත්කරනතෙක් තාවකාලික භාරකරුවෙකු (Provisional appoint-ment) බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයා විසින් පත්කිරීමට බලය ඇත.

භාරකරුවකු දිවයිනෙන් බැහැරව යන අවස්ථාවක සිය ධූරයේ වගකීම් ඉටුකිරීමට එහි භාරකරු විසින් අයෙකු ලිඛිතව නම් කළ හැකිය. එකී නාමයෝජනා කිරීම බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයාට වාර්තා කළ යුතුය.

දියවඩන නිළමේ ධූරය සඳහා වැඩ බැලීමට යම් අයෙකු යෝජනා කිරීමේදී හෝ පත්කිරීමේදී ඒ සඳහා මල්වත්ත හා අස්ගිරිය විහාරයේ මහනායක තෙරුන්ගෙන් අනුමැතිය ලබාගත යුතුය.

# භාරකරුවෙකු විසින් නඩු පැවරීම හා භාරකරුවෙකුට එරෙහිව නඩු පැවරීම

පන්සලකට විවිධ දේපළ තබා ගත හැකි නිසාත් එසේම විවිධ ගනුදෙනු වලට ඇතුළුවීමේ අවස්ථා පැන නගින නිසාත් පන්සල් වලට විරුද්ධව පවා අධිකරණ ඉදිරියට යාමේ අවස්ථාවන් දක්නට ලැබේ.

එසේම පන්සල් පාලකයින් විසින් පවා නඩු පැවරීමේ අවස්ථා වර්තමානයේ පැන නැගී ඇත. සමාජයක ජනගහනයද දින පතා වැඩිවන බැවින් පන්සල හා නීතිමය ගැටළු වලට සම්බන්ධ වන පුද්ගලයින්ද අනාගතයේ වැඩිවීමට ඉඩ ඇත.

මේ නිසා පන්සල් විසින් නඩු පැවරීමට හා පන්සලකට එරෙහිව නඩු පැවරීමට හැකිද යන්න සොයා බැලිය යුතුය.

අතීතයේදී පන්සල් විසින් සහ පන්සල්වලට එරෙහිව නීතිමය ගැටළුවලට විසඳුම් සෙවීම පිණිස නඩු කටයුතු වලට සම්බන්ධ වීමට පන්සල් වලට සිදුවී ඇත. ඒ කාලයේදී ලැබූ තොරතුරු වලට අනුව පන්සල් තුළ පැන නැගුණු නීතිමය ගැටළුවක් පන්සල් තුළම විසඳාගත යුතු විය. මේ ආකාරයේ නීතිමය ආරවුල් සංඝයාවහන්සේ තුලින්ම විසඳාගැනීම මුලින්ම කළ යුතුවිය. පන්සල් තුළ සිදුවන ගැටීම් පිටතට ගෙනයාම නොකළ යුතු විය.

වත්මන් නීතිමය තත්ත්වයන්ට අනුව පන්සලක් විසින් නඩු පැවරීමට අවශ්‍ය නම් ඒ සඳහා එම පන්සලට නීතිමය පුද්ගල භාවයක් තිබිය යුතුය. එනම් පන්සල නීතිමය පුද්ගලයෙකු විය යුතුය. අධිකරණයක් ඉදිරියට යා හැක්කේ නීතිමය පුද්ගලයෙකුට පමණි. අපගේ නීතිමය සංකල්පයන්ට අනුව පන්සලකට නෛතික පුද්ගලයෙකුගේ තත්ත්වය තවම ලැබී නැත. ඒ නිසා අධිකරණයේ නඩු පැවරීමට හෝ පවරනු ලැබීමට පන්සලක් යටත් නොවේ. විවිධ නඩු තීන්දු ගනනාවකදී පෙන්වා ඇති පරිදි බෞද්ධ පන්සලක්

නෛතික පුද්ගලයෙකු නොවේ. ඊට නෛතික පුද්ගල තත්වයක් පවා නැත. ඒ නිසා එයට දේපළක් අයිතිකර ගැනීමේ ශක්තියක්ද නැති බව (59 න. නී. වා. 121), (62 න. නී. වා. 49) (2-1985 ශ්‍රී. ලනී. වා. 197) විජේවර්ධන එ. බුද්ධරක්ඛිත හිමි යන නඩු වලදී ලංකාවේ අධිකරණය පමණක් නොව එංගලන්තයේ ප්‍රිවි කවුන්සලය පවා තීරණය කර ඇත.

පන්සලක් විසින් පෞද්ගලිකව නඩු පැවරීම හෝ පවරනු ලැබීම සම්බන්ධ විධිවිධාන පනතේ 18 වන වගන්තියේ මෙසේ විස්තර කර ඇත.

"...................... මෙම පනතේ අඩංගු විධිවිධානයක් ක්‍රියාත්මක කරවා ගැනීමට හෝ දේපළක් සම්බන්ධව ගැටළුවකදී පන්සලක භාරකරු විසින් හෝ පාලක විහාරාධිපති විසින් භාරකරු වශයෙන් නඩු පැවරීමට හෝ පවරනු ලැබීම නීත්‍යානුකූල වේ." මේ අනුව බලන විට පෙනී යන්නේ පන්සලක භාරකරු විසින් එම පන්සල නමින් නීතිය ඉදිරියේ පෙනී සිටිය හැකි බවයි.

මරාලියා එ. ගුණසේකර (23 න. නී. වා. 261)හිදී කලින් සිටි භාරකරුවෙකු විසින් සාද ගත් ගිවිසුම් සම්බන්ධයෙන් පසුව පත්වූ භාරකරුට එම ගිවිසුම සම්බන්ධයෙන් නඩු පැවරිය හැකි බව තීරණය විය.

පන්සලක විහාරාධිපති කෙනෙකුට එම පන්සලේ භාරකරුගේ භාරයේ ඇති දේපළක බුක්තිය නැවත ලබා ගැනීම සඳහා නඩු පැවරීමට අයිතියක් නැති බවත් අයිතිය ඇත්තේ එහි භාරකරුට පමණක් බවත් තෙරුන්නාන්සේ එ. දොන් ආරොන් (34 න. නී. වා. 348) හිදී තීරණය විය.

පන්සලක භාරකරුවෙකුට ඉන්ජන්ෂන් තහනම් නියෝගයක් ගැනීමේ නඩුවක් පවත්වා ගෙන යා හැකි බව සිල්වා එ. බංඩා (28 න. නී. වා. 239) යන නඩුවේදී තීරණය කර ඇත.

පන්සලක භාරකරු විසින් නඩුව පවරන අවස්ථාව වන විට ඔහු විසින් සිය ධූරය බාර ගැනීමට පෙර තැබිය යුතු ඇපය තබා තිබුනේ නැත. එසේ වුවත් ඔහුට නඩුවක් පැවරීමේ තත්ත්වය

තිබෙන බව ප්‍රනාන්දු එ. ප්‍රනාන්දු (19 න. නී. වා. 204) යන නඩුවේදී තීරණය වී ඇත.

බෞද්ධ විහාරයක විහාරාධිපති ධූරයෙහි අයිතිවාසිකමක් ප්‍රකාශ කරවා ගැනීම සඳහා නඩුවක් පැවරීමේදී, එම නඩුව, නඩු නිමිත්ත හට ගෙන අවුරුදු 03 ක් ඇතුළත පැවරිය යුතුය. එම අවුරුදු 03 ක කාලය පසු වූ විට නඩු පැවරීමේ අයිතිය අහෝසි වේ. තෙරුන්නාන්සේ එ. තෙරුන්නාන්සේ (28 න. නී. වා. 477) ප්‍රේමරත්න එ. ඉන්දසාර (40 න. නී. වා. 235).

එරගොඩ පත්තිනි දේවාලයේ කපුරාල එහි තත්වාකාර භාරකරු (De Facto Trustee) ලෙස එම දේවාල ඉඩමෙහි බදු ලාභීන් වශයෙන් පදිංචිව සිටි අයට එයින් ඉවත් කිරීම සඳහා නඩු පැවරුවේය. මෙහිදී මෙම කපුරාල භාරකරුවකු ලෙස මහා භාරකරුගෙන් පත්වීමක් ලැබ නොතිබුණි. එනිසා ඔහුට මෙම නඩුව පැවරීමට හැකියාව ඇත්ද, යන්න විසඳිය යුතු ප්‍රශ්නය විය. තත්වාකාර භාරකරු යනු මහා භාරකරුගෙන් පත්වීමක් නොලැබ එසේම බස්නායක නිළමේ කෙනෙකුද නොවන, එම දේවාලයේ ප්‍රායෝගික ලෙස වැඩ කටයුතු කරගෙන, භාරකරු ලෙස සිටින අයයි. මෙම නඩුවේදී ඉහළ අධිකරණය තීරණය කර සිටියේ, බෞද්ධ විහාර දේවාල ඉඩම් පනතේ 4 (1) උප ඡේදය යටතේ ක්‍රියාත්මක වීමෙන් නිදහස් වූ දේවාලයක තත්වාකාර භාරකරුවකුට එම දේවාලය සන්තක ඉඩමක හිමිකම ප්‍රකාශ කරවා ගැනීමේ නඩුවක් පවරා එය කියාගෙන යාමට බලය තිබෙන බවයි. (මුදියන්සේ කපුරාල, එරගොඩ පත්තිනි දේවාලයේ භාරකරු එදි. ඩිංගිරි බංඩා 72 සිලෝන් ලෝ වික්ලි 51.)

චාර්ලිස් අප්පු කපුරාල එදිරිව මානිස් අප්පු (71 නව නී. වා 350) මෙම නඩුවේදී 1961 වර්ෂයේදී පමණ රුහුණු මහ කතරගම දේවාලයේ මහ කපුරාල විසින් කතරගම දේවාලයේ බස්නායක නිලමේ හට විරුද්ධව වන්දියක් අයකර ගැනීම සඳහා නඩු පවරා තිබුනි. මෙම නඩුව පවරා තිබුනේ බස්නායක නිළමේට විරුද්ධව පෞද්ගලිකව ඔහුගේ නමින් පැවරූ නඩුවක් හැටියට මිස බස්නායක නිලමේගේ නිල නාමයට (Official Capacity) විරුද්ධව නොවේ. මෙම නඩුව විභාගවෙමින් පවතින අතරතුර බස්නායක නිලමේ

මිය ගිය අතර, ඒ වෙනුවට අලුතින් පත්වූ බස්නායක නිලමේ නඩුවට ආදේශ කිරීමට උත්සහ කළවිට අධිකරණය ප්‍රකාශ කර සිටියේ එසේ ආදේශ කිරීම (Substitution) නීත්‍යානුකූල නොවන බවයි. හේතුව මුලින් නඩුව පවරා තිබුනේ බස්නායක නිලමේ හට විරුද්ධව නොවන අතර, ඔහුගේ පෞද්ගලික නාමයටය. මුලින්ම බස්නායක නිලමේ වශයෙන් ඔහුගේ නිල නාමය යොදාගෙන නඩුව පවරා තිබුනේ නම් ඔහු මිය ගිය පසු අලුතින් පත්වූ බස්නායක නිලමේ හට විරුද්ධව නඩුව ඉදිරියට ගෙන යාමට නීතිය අනුව ඉඩකඩ තිබුනි. විහාර හා දේවාලගම් පනතට අනුව නඩු පැවරීමේදී පංසලේ හෝ දේවාලයේ භාරකරු එනම් බස්නායක නිලමේ හට විරුද්ධව නිල නාමයෙන් නඩු පැවරිය යුතුය.

යම් පන්සලක විහාරාධිපති කෙනෙකු නොවූවද, විහාරාධිපති කෙනෙකු ලෙස එම පන්සලේ කටයුතු ගැන සෑහෙන උනන්දුවක් හා ඇල්මක් ඇති භික්ෂුවකට පන්සලේ සාංඝික දේපල සම්බන්ධව නඩු කිව හැකි බව චන්ද්‍රවිමල තෙරුන්නාන්සේ එදි. සියදෝරිස් (47 න. නී. වාර්තා 304) යන නඩුවේදී තීරණය විය.

භාරකරුවකු විසින් නඩු පැවරීම සම්බන්ධව භාර ආඥා පනතද අදාල කරගත හැකිය. 1917 අංක 9 දරණ භාර ආඥා පනතට අනුව පන්සලක දේපළ පිළිබඳ භාරයක් පුණ්‍ය භාරයක් ලෙස සැලකෙන බැවින් භාරකරු විසින් ඒ පිළිබඳ නඩු පැවරිය හැකිය.

# 3

# සාංඝික දේපළ

## Sangika Property

චාරිත්‍රානුකූලව පූජා කිරීමෙන් සංඝයාට කැපකළ දේපළ සාංඝික දේපළ යනුවෙන් හැඳින්විය හැකිය. මෙම දේපළ නිශ්චල හෝ චංචල විය හැකිය. මෙකී දේපළ මෙහිදී පූජා කරනු ලබන්නේ සියළුම සංඝයාගේ ප්‍රයෝජනය සඳහාය. එනම් මෙකී දේපළෙහි අයිතිය එම සංඝයා වහන්සේලාට නොලැබෙන අතර ලැබෙනුයේ භුක්ති විඳිම පමණි. එමෙන්ම බුදුන්ට පිදූ දේපළ, විහාරයට පිදූ දේපළ ආදියද සාංඝික දේපළ තුළට ගත හැකිය.

මෙම දේපළ ලැබෙනුයේ සියළුම සංඝයා වහන්සේලාගේ ප්‍රයෝජනය සඳහා (Entire Priesthood) මිස එක් භික්ෂුවකගේ හෝ කීප දෙනෙකුගේ පෞද්ගලික ප්‍රයෝජනය සඳහා නොවේ. මේවාට සාංඝික දේපළ යනුවෙන් හඳුන්වා දී ඇත්තේ ඒ නිසාය. සංඝයාට දේපළ පූජා කිරීමේදී "සංඝයාගේ ප්‍රයෝජනය සඳහා" "සංඝයාට" ආදී වචන යොදා ඇත. මෙයින්ද පෙනී යන්නේ සාංඝික දේපළකට තනි අයිති කරුවෙකු නම් කිරීම අපහසු බවයි. සාමාන්‍යයෙන් බෞද්ධ භික්ෂූන් වහන්සේලාට දේපළ ලැබිය නොහැකිය. ඔවුහු ගිහිගෙය හා ලෞකික සැප සම්පත් අත්හැර පැවිදි බවට පැමිණෙති. නමුත් භික්ෂූන් වහන්සේලාගේ ප්‍රයෝජනය

සඳහා යනුවෙන් දේපළක් පැවරිය හැකිය. මෙය සාංඝික කිරීමකි. මෙහිදී භික්ෂූන් වහන්සේලා දේපළක අයිතිකරුවෙකු නොකර අයිතිකරුවෙකු කරයි.

දේපළ සාංඝික කිරීම සම්බන්ධ බොහෝ කරුණු අපගේ දීර්ඝ ඉතිහාසය තුළින් සොයාගත හැකිය. මේ සම්බන්ධව වර්තමානයේ අපි පිළිපදින නීතිමය තත්ත්වයන්ට පෙර, ඈත ඉතිහාසයේ පවා රජවරු විසින් භික්ෂූන් වහන්සේලාට නවාතැන් පිණිස වනාන්තරවල ගල්ලෙන් (cave) පරිත්‍යාග කොට තිබෙන අතර ඒවා පැවරීමේදී ඊට අදාලව යම් යම් වත්පිළිවෙත් යොදාගෙන ඇත. මෙකී ලෙන් සහ ගුහාවල් ප්‍රයෝජනයට ගෙන ඇත්තේ භික්ෂූන් විසින් මූලිකව භාවනාවල යෙදීම සඳහාය. මෙකී ලෙන් පැවරීම් කිරීමේදී එකී විස්තර ගල්ලෙනෙහි කොටා ඇත. කැටයම් කොට ඇත. (cave inscription) මේ සම්බන්ධව තිබෙන ඉපැරණි සාක්ෂියක් වනුයේ අනුරාධපුර දිස්ත්‍රික්කයේ මිහින්තලයේ ඇති ලෙන් ලිපියයි. මෙහි විශේෂත්වය වනුයේ පැවරීම දෙන තැනැත්තාගේ නම සහ එය පූජ්‍ය පක්ෂය වෙත ලබාදෙන බව සඳහන් කොට තිබීමයි. මෙකී ලෙන් ලිපිය ක්‍රි.පූ. දෙවන ශත වර්ෂයේ පමණ බ්‍රහ්මී අක්ෂර (brahmi scripts) වලින් ලියන ලද්දක් බව සඳහන් වේ.

තවද අම්පාර දිස්ත්‍රික්කයේ කෝන්ගල ප්‍රදේශයේ පිහිටි ගුහා ලිපියද, හම්බන්තොට දිස්ත්‍රික්කයේ සිතුල්පව්ව, කොරවක්ගල හි පිහිටි ගුහා ලිපිද මේ සම්බන්ධව වැදගත්කමක් දරයි. කෝන්ගල ගුහා ලිපියෙහි පැවරීම දෙන තැනැත්තාගේ නම සහ එය සතර දිශාවෙන් පැමිණි සහ නොපැමිණි සියළුම භික්ෂූන් සඳහා පරිත්‍යාග කරන බව දක්වා ඇත.

තවද මෙකී සාංඝික දේපළ පරිහරණය කිරීමේදී ඒවා වැරදි ලෙස පරිහරණය කිරීම සම්බන්ධව යම් යම් කරුණු පුත්තලම දිස්ත්‍රික්කයේ ටැම් ලිපියක (pillar inscription) දක්වා ඇත. මෙකී පැවරීම් ඉර සඳ පවතින තාක් කල් පැවතිය යුතු බවත් මෙම ලිපිවල සඳහන් සාංඝික කිරීම් කඩ කරන අය වෙතොත් සහ එකී දේපළ අයථා ලෙස පරිහරණය කරන අය වෙතොත් ඔවුන් බල්ලන් සහ කපුටන් වී නැවත උපදින බවත් මෙකී ටැම් ලිපියෙහි සඳහන් කර ඇත.

මෙකී විස්තර වලින් අපට සොයාගත හැක්කේ අතීතයේ දේපළ සාංඝික කර ඇති බවත් එසේම එකී පැවරීම් කරන ආකාරය සහ ඒවා ආරක්ෂා කරන ආකාරයන්ය.

සාංඝික දේපළ සාංඝික කරන තුරු එය ගිහිසන්තක දේපළක් ලෙස පවති. එය සාංඝික කිරීම මුළු සංඝයා වහන්සේලා නියෝජනය කරනු ලබන භික්ෂූන් හතරක් හෝ ඊට වැඩි ගණනක් ඉදිරියේ විධිමත් චාරිත්‍රානුකූල ක්‍රමයක් මඟින් කළ යුතුය. මෙයින් එක් ක්‍රමයකි අත්පැන් වත් කිරීම. අත්පැන් වත් කිරීමේදී ඒ සඳහා නියමිත සූත්‍රයක් (Formula) හඬ නගා කිව යුතුය. මෙම ක්‍රමය අනුගමනය නොකරන්නේ නම් එම දේපළ සාංඝික බවට පත් නොවන බව බොහෝ දෙනාගේ මතයයි. සාංඝික දේපළ එම දේපළ සියලුම සංඝයා වහන්සේලාගේ ප්‍රයෝජනය සඳහා පවරා (Dedicate) තිබිය යුතුය. එසේ පවරන තෙක් එය ගිහි සන්තක දේපළකි. එම අවස්ථාවේදී ත්‍යාග දායක (Donor) හා ත්‍යාග ලාභියා (Donee) සිටිය යුතුය. එසේම එම පැවරීම කරන අවස්ථාවේ එම ත්‍යාග දේපළ තිබිය යුතුය. එහි භික්ෂූන් හතර දෙනෙකු හෝ ඊට වැඩි පිරිසක් සිටිය යුතු අතර සාංඝික කරන දේපළ පෙන්වා දිය යුතුය. මෙහි සංඝයා වහන්සේලා හතර දෙනෙකු සංකේතවත් කරන්නේ සියලුම සංඝයා (Sarva Sanga) නියෝජනය කිරීම සඳහාය.

කෙසේ වුවද නිශ්චල දේපළක් පොදුවේ යම් භික්ෂු කොටසකට (Specified class) පවරා පූජා කිරීමටද නීතියෙන් ඉඩ ලැබේ. උදාහරණයක් ලෙස රාමඤ්ඤ නිකායේ භික්ෂූන්ගේ යහපත හා ප්‍රයෝජනය සඳහා නිශ්චල දේපළක් පැවරිය හැකිය. (හරමානිස් සිල්වා එදි. විපුලසේන. නඩුව (iv) ද සිලෝන් ලෝරෙකෝඩර් 72)

දේපළක් සාංඝික කිරීම ලිඛිතව හෝ වාචිකව තිබිය හැකිය. කෙසේ වුවද එහි යම් නිශ්චිත අරමුණක් හෝ ක්‍රියාවක් (Formal Act) අදාල චාරිත්‍රයක් සමග තිබිය යුතුය. ත්‍යාගලාභියාගේ අතට පැන් වත්කර කළ හැකිය. ගිහි සන්තක දේපළක් සාංඝික බවට පත් වන්නේ මීට පසුවය. මේ ආකාරයේ චාරිත්‍ර විදියක් අනුගමනය නොකර දේපළක් සාංඝික බවට පත් කළ නොහැකිය. සමහර විට

මෙම පැවරීම ඔප්පුවක් මගින්ද කරන අතර එය ගලක කොටා තැබීමද (Stone Inscription) කළ හැකිය. ආදි කාලයේ ගල්වල කෙටීම මගින් දේපළ සාංඝිකරණය කර ඇත.

මෙම සාංඝික ක්‍රමය අනුගමනය කරනු ලබන්නේ විනය නීති වලට අනුකූලවය. දේපළක් වන්දනාමාන කිරීම සඳහා වෙන් කර තැබූ නිසාම එම දේපළ සංඝයා වහන්සේලා සඳහා කැප කළ සාංඝික දේපළක් බවට පත් නොවන බවට වටහාගත හැකිය. එම දේපළ සංඝයා සඳහා කැපකිරීමක් කර තිබිය යුතුය. **වික්‍රමසිංහ එ. උන්නාන්සේ (22 න. නී. වා. 236)**

නිශ්චල දේපළක් සාංඝික කිරීමේදී එය පෙර සඳහන් පරිදි චාරිත්‍රානුකූල පැවැත්මක් මගින් කර ඇත්නම් එය සාංඝික වේ. ඒ සඳහා නොතාරිස් වරයෙකු සහතික කරල ලද ඔප්පුවක් මගින් වීම අනිවාර්යය නොවන අතර ඒ සඳහා වංචා වැලැක්වීමේ ආඥාපනත අනුගමනය කිරීමද අත්‍යාවශ්‍ය නොවේ. **ධර්මවංශ හිමි එ. උක්කුබණ්ඩා නඩුව (60 න. නී. වා 350)**

දේපළක් සාංඝික බවට පත්වන තවත් ක්‍රමයක් ඇත. එනම් භික්ෂුවකට පෞද්ගලිකවද දේපළක් තබා ගැනීමට විනය නීති වලින් ඉඩ දී ඇති නිසා මෙසේ භික්ෂුවක් තබා ගන්නා පෞද්ගලික දේපළ (තමන් මහන්සියෙන් උපයාගත් තමාගේම ප්‍රයෝජනය සඳහා තබාගත් දේපළ) ඉතිරිව තබා යම් භික්ෂුවක් අපවත් වීමෙන් පසු එම දේපළ සාංඝික දේපළක් බවට පත්වේ. එහෙත් භික්ෂූන් වහන්සේ කෙනෙකු උරුමකර ගත් දේපළ මේ ආකාරයට සාංඝික බවට පත් නොවේ. (23 වන වගන්තිය)

බෞද්ධ භික්ෂූන් වහන්සේලා යම් දේපළක් දීර්ඝ කාලයක් තිස්සේ පොදුවේ භුක්ති වින්දේ නම් එම දේපළ සාංඝික දේපළක් වන බවටද පූර්ව නිගමනයක් පවතී.

මෙසේ භික්ෂූන්ගේ ප්‍රයෝජනය සඳහා පන්සලක ඇති සාංඝික දේපළ හා ඉන් ලැබෙන ආදායම එම භික්ෂූන් වහන්සේලා විසින් පරිහරනය කළයුතු ආකාරයද නීතියේ පෙන්වා දී ඇත.

පනතේ 25 වන වගන්තිය අනුව පහත සඳහන් අවශ්‍යතාවයන් සඳහා සාංඝික දේපළ හා ඉන් ලැබෙන ආදායම යෙදවිය හැකිය.

(i) පන්සලේ අලුත් වැඩියාවන් කිරීම සඳහා

(ii) පන්සලේ වැඩවසන භික්ෂූන් වහන්සේලාගේ හා පරිපාලන නිලධාරීන්ගේ නඩත්තුව සඳහා

(iii) පන්සලේ ආගමික කටයුතු සඳහා සහ සම්ප්‍රදායික ආගමික උත්සව සඳහා

(iv) අධ්‍යාපන කටයුතු දියුණු කිරීම සඳහා

(v) දේවාලයක් සහ කෝවිලක් සම්බන්ධයෙන් වන විටක එහි දුගී අයගේ යහපතට හේතුවන කටයුත්තක් සඳහා

(vi) භික්ෂූන්ගේ සත්කාරය සඳහා

(vii) සාංඝික දේපළක් හෝ පන්සලේ කටයුතු වෙනුවෙන් නිතිමය කටයුතු සඳහා කරන වියදම් වෙනුවෙන්.

(viii) බෞද්ධ විහාර හා දේවාලගම් පනතේ විධිවිධාන ක්‍රියාත්මක කිරීම සඳහා අවශ්‍ය වන වියදම් සඳහා

(ix) බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් විසින් අනුමත කරන ලද අනිකුත් වියදම් සඳහා

එසේම පන්සලකට අයිති වූ හෝ අයිතිවන හෝ එම පන්සලේ ප්‍රයෝජනය සඳහා පරිත්‍යාග කොට තිබෙන හෝ පන්සලේ ප්‍රයෝජනය සඳහා වෙන්කොට තිබෙන හෝ සියලුම චංචල හෝ නිශ්චල දේපළ සහ එහ දේපළ මගින් ලැබෙන අනිකුත් සියලුම කුලී ලාභ ඒ අවධියේ එම පන්සල භාරව සිටින භාරකරු වෙත හෝ පාලක විහාරාධිපති වෙත පැවරෙන බව පනතේ 20 වන වගන්තියෙන් පැහැදිලි කර ඇත.

# උඩරට නීතියට අනුව පංසලකට දෙන ලද තෑගි දේපළ අවලංගු කිරීම.

## (Revocation/Cancellation of Deed of Gift in Kandyan Law)

1938 අංක 39 දරන උඩරට නීති සංශෝධන හා ප්‍රකාශන ආඥා පනතේ (5) වන වගන්තියට අනුව උඩරට නීතියට යටත්වන පුද්ගලයෙකු විසින් පංසලකට දෙන ලද ත්‍යාගයක් (Gift) එහි ත්‍යාග දීමනා කරුට අවලංගු කළ නොහැකි බව සඳහන් වේ. උඩරට නීතියට අනුව "ත්‍යාගයක්" යනු මූල්‍යමය වටිනාකමකින් හෝ මූල්‍යමය ප්‍රතිශ්ඨාවකින් තොරව ජීවිත කාලය තුළ (Inter Vivos) ස්ව කැමැත්තෙන් දෙනු ලබන පවරනු ලබන නිශ්චල දේපළ පැවරීමකි.

මේ අනුව ඉහත කී විධිවිධාන යටතේ පන්සලක පාලක විහාරාධිපති හෝ භාරකරු වෙත පැවරී ඇති ඕනෑම ත්‍යාගයක් ත්‍යාග දීමනාකරු විසින් අවලංගු කිරීම නීත්‍යානුකුල නොවන බව සඳහන් කළ හැකිය.

# පෞද්ගලික දේපළ
## Pudgalika Property

පුරාණයේ භික්ෂූන් කෙනෙකුට පන්සල සතු දේපළ උන්වහන්සේ ගේ යැපීමට ප්‍රමාණවත් විය. එනිසා එකල සංඝයා වහන්සේලා විසින් පෞද්ගලික දේපළ තබා ගැනීමක් නොවීය. මුල්කාල වලදී සංඝයා වහන්සේලාට පෞද්ගලික දේපළ අයිතිකර ගැනීමට තිබූ ඉඩ සීමා විය. නමුත් සමාජය ක්‍රමයෙන් සංකීර්ණ වීමත්, සුඛෝපභෝගී භාණ්ඩ සුලබ වීමත් සහ එම වාණිජමය තත්ත්වයන් විහාරය තුළටද ඒම නිසා පසු කලකදී සංඝයා වහන්සේලාටද පෞද්ගලික දේපළක් තබා ගැනීමට නීතියෙන් බාධාවක් නොවීය.

බෞද්ධ දර්ශනයේ මූලික සිද්ධාන්ත වලට අනුව, බෞද්ධ භික්ෂුවකට ගිහියන් මෙන් පෞද්ගලිකව අයිතිවාසිකමක් ලෙස දේපළ අයිති කර ගැනීමට නොහැකිය. මේ අනුව කල්පනාකර බලන විට භික්ෂුවක්, දේපළවල අයිතිය නොදරන, අනික් අයගෙන් යැපෙන අයෙකු වශයෙන් සැලකිය හැකිය. අතීත බෞද්ධ භික්ෂූන් වහන්සේලා පාත්‍රයක් ගෙන තමන්ගේ එදිනෙදා ජීවිතය ගෙන යාමට අවශ්‍ය දේවල් එකතුකර ගැනීමට සඳහා නිවසක් පාසා ගොස් ඇත. මෙම තත්ත්වය දැන් දක්නට ලැබෙන්නේ කලාතුරකිනි. මෙයයි නියම බෞද්ධ භික්ෂුවකගේ ජීවන රටාව. නමුත් වර්තමානයේ මෙරටේ බෞද්ධ භික්ෂූන් වහන්සේලා ඉඩම් හිමියන්ගේ තත්ත්වයට පත්වී ඇත. උන්වහන්සේලා ඉඩම් හා අනිකුත් සුඛෝපභෝගී භාණ්ඩ මිලයට ගනිති, විකුණති. එසේම අවශ්‍ය ආකාරයට විවිධ ගිවිසුම් වලට එළඹෙති. මෙම තත්ත්වය අද නීතියෙන් පවා පිළිගෙන ඇත.

ඉතිහාසයේ හෙළ රජ දරුවන් විසින් බෞද්ධ දර්ශනයේ දියුණුව උදෙසා විවිධ පරිත්‍යාග විහාර සඳහා මෙන්ම එහි වසන භික්ෂූන් සඳහා කර ඇත. එසේම වර්තමානයේ ධනවත් මහජනයා විසින් ද මේ ආකාරයට පරිත්‍යාග භික්ෂූන් වහන්සේලාගේ පෞද්ගලික ප්‍රයෝජනය සඳහා පූජා කරයි.

මේ ආකාරයේ දේපළ එම භික්ෂුවකගේ පෞද්ගලික දේපළක් බවට පත්වේ. මෙසේ එකී භික්ෂූන් වහන්සේ කෙනෙකුට කෙරෙන පෞද්ගලික පරිත්‍යාගය කරනු ලබන්නේ එම පරිත්‍යාගය කරන තැනැත්තාගේ සිතෙහි එම ත්‍යාගලාභී භික්ෂුව කෙරෙහි ඇති වූ භක්තිය හා පැහැදීම නිසාය.

මෙසේ ලබන දේපළ ඉඩකඩම්, රථවාහන, පොත්පත් හා රන්රිදී භාණ්ඩ විය හැකිය. එසේම අටපිරිකර ගුවන් විදුලි යන්ත්‍ර හා රූපවාහිනී යන්ත්‍ර ආදියද විය හැකිය. පනතේ 20 හා 23 යන වගන්ති මෙසේ භික්ෂුවකට තමාගේම පෞද්ගලික ප්‍රයෝජනය සඳහා දේපළක් තබා ගැනීමට ඉඩදී ඇති බවක් පෙනී යයි. එසේම බෞද්ධ භික්ෂූන් වහන්සේ කෙනෙකුට සිය පෞද්ගලික ප්‍රයෝජනය සඳහා උපයා අත්පත් කරගත් දේපලද උන්වහන්සේගේ පෞද්ගලික දේපළක් බවට පත්වේ. (23) වන වගන්තිය. උදහරණ ලෙසː-

(අ) භික්ෂූන් වහන්සේ කෙනෙකු විසින් ගුරු වෘත්තියෙන් ලබන වේතන හා අතිකුත් ලැබීම්.

(ආ) නක්ෂත්‍ර ආදිය බැලීමෙන්, නැකැත් බැලීමෙන් උපයන ආදයම.

(ඇ) වෙදකම් ආදියෙන් ලබන ආදායම

(ඈ) බණ දේශනාවන් හා ආගමික වතාවත් කිරීමෙන් ලබන පරිත්‍යාග

(ඉ) පොත්පත් ලිවීමෙන් හා ග්‍රන්ථ කරණයෙන් ලබන ආදයම් හා ත්‍යාග වශයෙන් ලැබෙන ලැබීම් ගත හැකිය.

දැනට අප රටේ බලපවත්වන නීතියෙන් මෙකී දේපල උන්වහන්සේලා සතු පෞද්ගලික දේපළ හැටියට පිළිගැනේ. ඒවා සාංඝික දේපළක් ලෙස පිළිනොගැනේ.

පනතේ 23 වන වගන්තියට අනුව ".......... තනි භික්ෂුවක් විසින් තමාගේම පෞද්ගලික ප්‍රයෝජනය සඳහා අත්කර ගත් සියලුම පෞද්ගලික දේපළ එම භික්ෂුව විසින් තමාගේ ජීවිත කාලය තුළ දී අන්සතු නොකළොත් පසුව එය, එම භික්ෂුව වසන විහාරය වෙත පැවරේ. (එනම් සාංඝික බවට පත්වේ.) එසේ වීමට නම් එම දේපළ එම භික්ෂුවට උරුමයෙන් ලැබූ දේපළක් නොවිය යුතුය......

බෞද්ධ භික්ෂුවක් විසින් රක්ෂණ ගිවිසුමක් ඇති කරගෙන එම භික්ෂුව විසින් ලබා ගන්නා ලද රක්ෂණ ඔප්පුවකට අදළ මුදල එම භික්ෂුව විසින් තමාගේ පෞද්ගලික ප්‍රයෝජනය සඳහා අත්කර ගන්නා ලද දේපළකි. මෙහි එම භික්ෂුව විසින් එම රක්ෂණ ඔප්පුවට අදල මුදල තම ජීවිත කාලය තුළදී අන්සතු නොකර මියගිය හොත් එය එම පන්සල වෙත පැවරේ. මෙම තත්ත්වය ධම්මධර තෙර එ. සෙදරන් හාමි (41 න. නී. වා. 236) නඩුවේදී තීරණය කර ඇත.

විලියම් සිංඤො එ. ධම්මජොති ස්ථවිර (57 න. නී. වා. 16) නඩුවේදී 1915 වර්ෂයේදී ධම්මානන්ද උන්වහන්සේ හා සරණංකර උන්වහන්සේ යන සංඝයා වහන්සේලා විසින් කුඹුරක් සහිත ඉඩමක් මිලදී ගත්හ. 1934 වර්ෂයේ සිට සරණංකර උන්වහන්සේ සිවුරු අතහැර ඔහුගේ පරණ ගිහි නම භාවිතා කරමින් විවාහයක්ද කරගෙන ජීවත් විය. සරණංකර උන්වහන්සේ මිය යාමෙන් පසු 1951 දී සරණංකර උන්වහන්සේගේ විවාහක බිරිඳ තමාගේ ස්වාමි පුරුෂයාගේ මරණයෙන් පසු එම ඉඩම් කොටස ඉල්ලා නඩු පැවරුවේය. මෙහිදී තීරණය වූයේ එම දේපළ එම සරණංකර උන්වහන්සේ මියයාමෙන් පසු එම පන්සලට අයිති වන බවයි. මෙහිදී ගුණසේකර විනිසුරු, සන්සෝනි විනිසුරු සමග තීරණය කර සිටියේ භික්ෂුවක් තමාගේම පෞද්ගලික ප්‍රයෝජනය සඳහා අත් කර ගත් දේපළ තමාගේ ජීවිත කාලය තුළදී අන්සතු නොකර මිය ගියහොත් එම දේපළ එම පන්සලට පැවරෙන බවයි. මෙහිදී එම භික්ෂුව සිවුරු අතහැර ගියද, එසේම සාමාන්‍ය ගිහි ජීවිතයකට පත්වුවද ඔහු භික්ෂුවක් ලෙස අත්කර ගත් දේපළ එම පන්සල සතු වන බවයි.

රඹුක්වැල්ලේ සිද්ධාර්ථ හිමි එ. සුමනතෙර (44 න නී. වා. 365) නඩුවේදී රඹුක්වැල්ලේ සිද්ධාර්ථ නම් භික්ෂුවක් තමාගේ පෞද්ගලික දේපල අන්තිම කැමති පත්‍රයකින් පවරා 1941 වර්ෂයේදී අපවත් විය. මෙහිදී ප්‍රශ්නය වූයේ පනතේ 23 වන වගන්තිය යටතේ එම දේපල එම භික්ෂුවගේ ජීවිත කාලය තුළ අන්සතු කළ දෙයක්ද යන්නයි. (Alienation during his life time) මෙහිදී මොස්ලි විනිසුරු ජයතිලක විනිසුරු සමග තීරණය කර සිටියේ භික්ෂුවක් තම පෞද්ගලික දේපළ අන්තිම කැමති පත්‍රයකින් පවරා

අපවත් වුවහොත් එය පනතේ 23 වන වගන්තිය යටතේ විස්තර වන ජීවිත කාලය තුළ අන්සතු කළ දේපළ ගනයට නොවැටෙන බවයි. වෙනත් විදියකට පවසන්නේ නම් එම දේපළ එම පන්සල සතුවන බවයි. මෙයට හේතුව වන්නේ අන්තිම කැමති පත්‍රයකින් දේපළක් පැවරීමේදී ඇත්ත වශයෙන්ම එම දේපල එම පැවරුම් ලාභීන්ට ලැබෙනුයේ එම දේපළ පවරන්නා මිය යාමෙන් පසුව නිසාය. මිය යාමට පෙර එම දේපළ පැවරුවත් මිය යාමෙන් පසුව දේපළ නීත්‍යානුකූලව අයත් වන නිසා එය ජීවිත කාලය තුළ අන්සතු කළ දෙයක් ලෙස පිළිනොගැනේ. ඒ නිසා එම දේපළ පන්සල සතු වේ.

මේ අනුව පෙනී යන්නේ බෞද්ධ භික්ෂුවක් ලෙස බුද්ධ ශාසනයට ඇතුළු වීමේදී සියළුම ධනය අත්හැරිය යුතුය යන රීතිය සර්වව්‍යාප්ත එකක් නොවන බවය.

ත්‍යාගයක් ලෙස, මිලදී ගැනීමට, දේපළ උරුමකර ගැනීමට උන්වහන්සේ කෙනෙකුට ගිහියෙකු ලෙස සිටියදී මෙන්ම භික්ෂුවක් වශයෙන්ද පුළුවන්කම ඇත. අවසාන වශයෙන් "පෞද්ගලික දේපළක්" යන්නට කෙටියෙන් නිර්වචනය කරන්නේ නම් "එම භික්ෂුවගේම පෞද්ගලික ප්‍රයෝජනය සඳහා වෙන්කර දුන් දේපළක් හා මෙකී දේපළ අනිකුත් භික්ෂූන්ගේ ප්‍රයෝජනයට නොව එම තනි භික්ෂුවගේ ප්‍රයෝජනය සඳහාම අත්කර ගත් එකක් විය යුතුය. (72 න. නී. වා. 367)

# සාංඝික දේපළක් හා පුද්ගලික දේපළක් අතර වෙනස

(1) බුදුන්ට පිදූ දේපළ, විහාරයට පිදූ දේපළ සහ සියළුම සංඝයා වහන්සේලා සඳහා පොදුවේ ප්‍රධානය කළ දේපළ සාංඝික දේපළක් වන අතර, තනි භික්ෂුවක් තමාගේම ප්‍රයෝජනය සඳහා අත්කර ගත් දේපළ පුද්ගලික දේපළයි.

(2) සාංඝික දේපළක් සඳහා අයිතිකරුවෙකු නැත. එනම් අයිතිකරුවකු නම් කිරීම අපහසුය. එහෙත් පුද්ගලික දේපළක් සඳහා තනි අයිතිකරුවෙකු නම් කළ හැකිය.

(3) නිශ්චල දේපළක් සාංඝික කිරීමේදී ඒ සඳහා යම් විධිමත් චාරිත්‍රානුකූල ක්‍රම අනුගමනය කළ යුතුය. උදා:- අත්පැන් වත් කරමින් යම් සූත්‍රයක් කියවීම. මේ සඳහා වංචා වැලැක්වීමේ ආඥා පනත් අනුගමනය කිරීම හා නොතාරිස්වරයෙකු ඉදිරියේ පැවරීම අත්‍යාවශ්‍ය නොවේ. එහෙත් භික්ෂුවකට පුද්ගලික නිශ්චල දේපළක් පැවරීමේදී ඒ සඳහා වංචා වැලැක්වීමේ ආඥා පනතට අනුව කළ යුතුය. මෙය ත්‍යාගයක් මගින් හෝ අන්තිම කැමති පත්‍රයක් මගින් කළ හැකිය.

(4) සාංඝික දේපළක් වියදම් කළ යුතු ආකාරය නීතියෙන් නියම කර ඇත. උදා:- ලෙස පනතේ 25 වන වගන්තිය ගත හැකිය. පුද්ගලික දේපළක් පරිහරණය කිරීමේදී මේ ආකාරයේ සීමාවක් දක්වා නැත.

(5) සාංඝික දේපළක් කාලාවරෝධයෙන් මගින් එනම් කාලයක් බුක්ති විඳීමේ හේතුවෙන් වෙනත් අයෙකුට අයත් කර ගත නොහැකිය. පුද්ගලික දේපලක් වෙනත් අයෙකුට කාලාවරෝධයෙන් අයිති කර ගත හැකිය.

(6) සාංඝික දේපළක් බදු දීමේදී එය පනතේ විධිවිධාන වලට අනුව කළ යුතුය. එහෙත් පුද්ගලික දේපළක් තමන් කැමැති ආකාරයටකට විකිණීම බදු දීම හෝ උකස් කිරීම කළ හැකිය.

# සාංඝික දේපළ විකිණීම හා උකස් කිරීම

සාංඝික දේපළක් එනම් පන්සලකට අයිති නිශ්චල දේපළක් උකස් කිරීම (Mortgage) විකිණීම (Sale) හෝ වෙනයම් ආකාරයකට අන්සතු කිරීමක් (other Alienation) කිසිම ආකාරයකින් නීත්‍යානුකූල නොවේ. (26) වගන්තිය මෙම නීති තත්ත්වය පනවා ඇත්තේ සාංඝික දේපළ සසුනේ ප්‍රයෝජනය සඳහා පරපුරෙන් පරපුරට එකී දේපළ ආරක්ෂා කර ගැනීම සඳහාය. නමුත් මෙම දේපළ සීමිතව ආයෝජනය කළ හැකිය.

සිද්ධස්ථානය හා එහි වසන භික්ෂූන් වහන්සේලාගේ නඩත්තුවද බොහෝ විට මෙම දේපළ මත රඳා පවතී. මේ ආකාරයේ විහාර දේපළ විහාර භාරකරුවන් විසින් හිතුමනාපයට අන්සතු කිරීම් වලට ඉඩදී තිබුනේ නම් එහි ප්‍රතිඵලය වන්නේ බෞද්ධ සිද්ධස්ථාන වල හා භික්ෂූන්ගේ අනාගත පරිහානියයි. මෙසේ විහාරසතු දේපළ පැවැරීම හෝ අන්සතු කිරීම වළක්වා ඇත්තේ මෙම හේතුව නිසා විය හැකිය.

විහාර දේපළ මිළදී ගත් අයට හෝ පැවරුම් ලාභී අයට නීතියේ පිළිගන්නා හිමිකමක් හා අයිතිවාසිකමක් ලැබෙන්නේ නැත. කෙසේ වුවද මෙම නීතිමය තත්ත්වය අවස්ථා දෙකකදී බලනොපායි. එනම් පරවේනි පංගුවක් සම්බන්ධයෙන් ඇති කරගන්නා විකුණුම්, උකස් කිරීම් හා අන්සතු කිරීම් සම්බන්ධ මෙම 26 වන වගන්තිය බල නොපාන අතර රිට් ආඥාවක් මගින් දේපළක් ඇස්කිසි කර අධිකරණය මගින් විකිණීමක් සම්බන්ධයෙන්ද මෙකී 26 වන වගන්තිය බල නොපායි. මෙයින් පැහැදිලි වන්නේ පරවේනි පංගු දේපළක් හෝ අධිකරණයකින් තහනම් කළ විහාරයක් සතු ඕනෑම දේපළක් වෙනත් අයෙකුට පැවරීම (Transfer) කළ හැකි බවයි.

පරවේනි පංගු අයිතිවාසිකම් එම කුලී නිවැසියන් විසින් පැවරීමකදී එම පැවරීම කර දින 30ක් ඇතුළත ඒ පිළිබඳ ලිඛිත දැන්වීමක් බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයා වෙත

එම පැවරුම්ලාභීන් විසින් යැවිය යුතුය. ඉන් පසුව කොමසාරිස්වරයා විසින් එම දැන්වීම ලැබූ බවට රිසිට් පතක් එම පැවරුම්ලාභියාට යැවිය යුතු අතර කොමසාරිස්වරයා විසින් එම දැන්වීම සුරක්ෂිතව ලැයිස්තු කර තබා ගත යුතුය. ඒ සමගම කොමසාරිස් ලැබූ එම දැන්වීමේ පිටපතක් එම අදාල පන්සල් භාරකරු වෙත යැවීමද කොමසාරිස්වරයා විසින් කළ යුතුය. (27 වන වගන්තිය)

චාර්ල්ස් එදිරිව අප්පු (19 න.නී.වා. 242) නඩුවේ දී විහාරයේ භාරකරුට එරෙහිව වියදම (Cost) පියවා ගැනීම සඳහා රිට් ආඥවක් මගින් එම දේපළ තහනමට ගෙන විකිණිය හැකි බව තීරණය විය.

# සාංඝික දේපළ බදුදීම

බෞද්ධ විහාරයක් එනම් පන්සලක් සතු සාංඝික නිශ්චල දේපළක් හිතුමනාපයට බදුදීමට නීතියෙන් අවසර ලැබී නැත. එසේ බදුදීමේදී විහාර දේපළ සඳහා වඩා වාසිදායක කොන්දේසි වලින් යුක්තවිය යුතුය. එසේම එකී බද්දක් විහාරයේ අත්‍යවශ්‍ය හා මූලික යහපත සඳහා විය යුතුය. මෙසේ විහාරාධිපති කෙනෙකු විසින් හෝ භාරකරුවෙකු විසින් බදුදීමේදී ඒ සඳහා බෞද්ධ කටයුතු කොමසාරිස්වරයාගේ අවසර ගත යුතුය. එතුමාගේ අනුමැතිය නොමැති වුවද කෙටි කාලයකට සාංඝික නිශ්චල දේපළක් බදුදීමට හෝ කුළියට දීමට බලය ඇත.

අවුරුදු එකකට නොවැඩි එසේම වටිනාකම රුපියල් 500/- ට අඩු ඉඩමක් හෝ අක්කර පහකට අඩු ඉඩමක් බදුදීමට පන්සලේ විහාරාධිපතිට හෝ භාරකරුට පනතට අනුව බලය ඇත. අනිකුත් අවස්ථාවලදී පන්සලක් සතු නිශ්චල දේපළක් බදුදීමේදී ඒ සඳහා පහත සඳහන් පූර්ව කොන්දේසි අනුගමනය කළ යුතුය.

එනම්:-

(අ) ඒ සඳහා බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයාගෙන් පූර්ව ලිඛිත අනුමැතිය ගත යුතුය.

(ආ) බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයා විසින් එය වෙන්දේසියක් මගින් හෝ පෞද්ගලික ගනුදෙනුවක් මගින් බදු දීම අනුමත කළහොත් මිස එම දේපළ බදු දිය හැක්කේ ටෙන්ඩර් කැඳවා ඉහළම ටෙන්ඩරය ඉදිරිපත් කළ අයටයි.

(ඇ) ටෙන්ඩරයක් කැඳවන්නේ නම් කොමසාරිස් වරයා විසින් එය අනුමත කළහොත් එම විහාරාධිපති හෝ භාරකරු විසින් එම බද්ද පිළිබඳ විස්තර හා කොන්දේසි දේශීය පුවත් පතක පළ කළ යුතුය. එය පළවීමෙන් සති 06 කට පසුව එම ටෙන්ඩරය කැඳවිය යුතුය.

(ඈ) එවැනි ටෙන්ඩර් එම ටෙන්ඩර්කරු විසින් කොමසාරිස්වරයාට හා විහාරාධිපතිට හෝ භාරකරුට යැවිය යුතුය.

(ඉ) එම භාරකරු හෝ විහාරාධිපති විසින් එම ටෙන්ඩරය පිළිබඳ නිර්දේශය එම ටෙන්ඩරයද උප ලේඛන ගත කොට කොමසාරිස්වරයාට යැවිය යුතුය. ඉන්පසු කොමසාරිස් විසින් සුදුසු යයි හැඟෙන නියෝගයක් දිය හැකිය.

මෙම බෞද්ධ විහාර හා දේවාලගම් පනතේ විධිවිධාන වලට අනුකූලව බදුදෙන, පන්සලක් සතු දේපළක් එසේ බදු දිය හැක්කේ බෞද්ධ දර්ශනයේ පනවා ඇති රීති වලට අනුකූලවය. මෙයින් අදහස් වන්නේ බුදුදහමට පටහැනි අදහස්, අරමුණක් ඉෂ්ඨ කර ගැනීම සඳහා මෙවන් නිශ්චල දේපළක් බදු දිය නොහැකි බවයි. මෙකී බදු ගිවිසුමක් ඇති කර ගත හැකි වැඩිම කාල සීමාව අවුරුදු 99 ක් බව පනතේ සඳහන් වේ. අවුරුදු 99 ඉක්මවන බදු ගිවිසුමක් පන්සලක් සතු දේපළක් සඳහා ඇතිකර ගත නොහැකිය. අවුරුදු 30 ක් ඉක්මවන බදු ගිවිසුමක් ඇතිකර ගන්නේ නම් එම ගිවිසුමට අදාල බදු කුළිය බදු ගිවිසුම ආරම්භ කරන දිනයේ සිට අවුරුදු දහයෙන් දහයට ප්‍රතිශෝධනය කළ හැකි වන ආකාරයේ කොන්දේසි එම බදු ගිවිසුමේ ඇතුළත් කළ යුතුය.

මෙකී කොන්දේසි අනුගමනය කරමින් සාංඝික දේපළ බදුදිය හැකිය. එසේම බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයාගේ පූර්ව අනුමැතිය අවශ්‍ය නැති බදු ගිවිසුමක් ඇතිකර ගන්නේ නම් එම බදු ගිවිසුමේ කොන්දේසි, බදු මුදල එම ඉඩමේ නම හා ප්‍රමාණය ආදී සියලුම විස්තර එම බදු ගිවිසුම ඇතිකර ගත් දින සිට මාස එකක් ඇතුළත කොමසාරිස්වරයාට වාර්තා කළ යුතුය. මෙසේ වාර්තා කිරීම එම විහාරාධිපති විසින් හෝ භාරකරු විසින් කළ හැකිය. මේ අනුව බලන විට පැහැදිලි වන්නේ පන්සලක් සතු නිශ්චල දේපළක් බදුදීමේදී එහි වටිනාකම හෝ ප්‍රමාණය කුමක් වුවද ඒ පිළිබඳ දැන්වීමක් කොමසාරිස්වරයාට දිය යුතු බවයි.

මෙහි සඳහන් වූ විධිවිධාන වලට අනුකූල නොවන ආකාරයේ බදු දීමක් සාංඝික දේපළක් සඳහා ඇතිකරගෙන ඇත්නම් එම බදු ගිවිසුම ශූන්‍ය හා බල රහිත (Null and Void) වන අතර එය නීතිය ඉදිරියේ කිසිම ආකාරයක වලංගුතාවයක් නොදරයි.

# බෞද්ධ විහාර දේපළ ලියාපදිංචි කිරීම

ඉංග්‍රීසි ජාතිකයන් ලක්දිව පාලනය කිරීමට පටන් ගන්නා අවධිය වනවිට එහි බෞද්ධ විහාර සතුව බොහෝ ඉඩම් තිබුණි. මෙම විහාර සතුව තිබූ දේපළ ගැන ඉංග්‍රීසි පාළකයන්ට යම් යම් ප්‍රශ්න මතු විය. ඊට හේතුව වූයේ මෙම පන්සල් සතු දේපළ සම්බන්ධව ක්‍රියාත්මක වූ සාංඝික දේපළ ක්‍රමයයි. මෙම ක්‍රමය ගැන අවබෝධයක් ඉංග්‍රීසි පාලකයන්ට නොතිබුණි. එනිසා ඔවුන් නිතරම උත්සාහ දැරුවේ මීට සමාන ඔවුන්ගේ ඉංග්‍රීසි නීති සිද්ධාන්ත හඳුන්වාදීමටයි. මෙම පන්සල්වල තිබූ දේපළ නිරවුල් කිරීම සඳහාත් ඒ සම්බන්ධව විධිවිධාන යෙදීම සඳහාත් 1856 අංක 10 දරණ බෞද්ධ විහාර ඉඩම් ලියාපදිංචි කිරීමේ ආඥා පනත බිහිවිය.

මෙම පනතේ 02 වන වගන්තිය යටතේ මුලින්ම කොමසාරිස්වරයෙකු පත්කර ගත යුතුවිය. පසුව එම කොමසාරිස්වරයා විසින් එම පනතේ 07 වන වගන්තියට අනුව උඩරට ප්‍රදේශයේ තිබෙන ඕනෑම දිස්ත්‍රික්කයක පිහිටා තිබෙන විහාර හා දේපළ සතු සියලුම ඉඩම්වල මායිම් නිරවුල් කර තීරණය කළ යුතු විය. මෙය අදාල වූයේ මෙම පනතට අනුව උඩරට ප්‍රදේශයේ පිහිටි විහාර දේපළ වලට පමණි.

මීට හේතුව වන්නට ඇත්තේ එකල බොහෝ විහාර දේපළ උඩරට පිහිටා තිබීම විය හැකිය. පන්සල් විහාර සතු ඉඩම් පිළිබඳව මායිම් නිරවුල් කිරීමෙන් පසු මෙම ඉඩම් ලියාපදිංචි කළ යුතු විය. මේ බව පනතේ (1856) 20 වගන්තියේ සඳහන් වේ.

කොමසාරිස්වරයා විසින් එවැනි පන්සලක් සතු දේපළක මායිම් නිරවුල් කර තීරණය කරගත් පසු ඔහු විසින් ඒ සම්බන්ධයෙන් ඒ තොරතුරු ලියාපදිංචි කිරීම සඳහා රෙජිස්ටරයක් එනම් ලේඛනයක් සාදා තිබිය යුතු අතර එම ලේඛනයේ එම ඉඩමේ විස්තර එනම් එහි පිහිටීම, එහි විස්තරය නම, එහි මායිම්, ප්‍රමාණය

හා එම ඉඩමේ මායිම් වල පිහිටා ඇති ඉඩම් පිළිබඳ විස්තරයක් ඇතුළත් කළ යුතුය.

මේ ආකාරයට විහාර දේපළ ලියාපදිංචි කිරීමේ තවත් ප්‍රතිඵලයක් වූයේ මෙම දේපළ බද්දෙන් නිදහස් කිරීමයි. බද්දෙන් නිදහස් කිරීම සඳහා සාක්ෂියක් ලෙස ඉදිරිපත් කිරීම පිණිස නියමිත ආකෘතියකට අනුව සහතිකයක්ද නිකුත් කරන ලදී. මේ බව ඉහත කී පනතේ 07 වන වගන්තියේ සඳහන් කර ඇත.

මෙකී ආඥා පනතේ විධිවිධාන යටතේ විහාර සතු ඉඩම් නිශ්චය කර ලියාපදිංචි කිරීමේදී ඒ සඳහා යොදාගන්නා ලද මිණුම් දණ්ඩ වූයේ විහාරාධිපති භික්ෂූන් වහන්සේගේ භුක්තියයි. මෙම ලියාපදිංචි කිරීමේ ක්‍රියාවලියේදී විහාර සතුව තිබූ ඉඩම් සෑහෙන ප්‍රමාණයක් විහාරස්ථාන වලට අහිමි විය.

විහාර හා දේවාල සතු ඉඩම් ලියාපදිංචි කිරීමේ නීතිය ක්‍රියාත්මක කිරීමේදී ආගමික දේපළ විශාල කොටසක් රජය සතු විය. එසේම, විහාරාධිපති වහන්සේගේ භාරකාරත්ව සංකල්පය අධිකරණය මගින් පිළිගත් අතර ඒ අනුව ඒවා ක්‍රියාත්මක කළේය.

# 4

# භාරකරුගේ යුතුකම් හෙවත් වගකීම්

## ගණන් හිලව් තැබීම

(අ) පන්සලක භාරකරුවෙකු විසින් එම පන්සලට ලැබෙන සියලුම තෑගි සහ පන්සලේ ඇති සියලුම චංචල දේපළ, නිශ්චල දේපළ වලින් ලැබෙන සියලුම කුලී දීමනා, මුදල් හා ලාභ පිළිබඳ සම්පූර්ණ විස්තරයක් සහ

(ආ) පනතේ 25 වගන්තිය ප්‍රකාර පහත සඳහන් අරමුණු සඳහා කරන ලද වියදම් පිළිබඳව ප්‍රකාශනයක් (කොමසාරිස්වරයා විසින් සාධන ලද ආකෘතියකට අනුව) සෑම භාරකරුවකු විසින්ම තබා ගත යුතුය. (35 වන වගන්තිය)

(25 වන වගන්තිය අනුව පන්සලකට ලැබෙන සියලුම ලැබීම් පහත සඳහන් අරමුණු සඳහා වියදම් කළ හැකිය.)

එම අරමුණු මෙසේය:-

(1) එම පන්සලේ අලුත්වැඩියා කටයුතු සඳහා, ගෘහ භාණ්ඩ සෑදීම සඳහා හා ඊට අදල ගොඩනැගිලිවල හා මාර්ග වල නඩත්තුව සඳහා;

(2) එම පන්සලට අනුබද්ධ වී සිටින භික්ෂූන්ගේ නඩත්තුව සඳහා කරන ලද වියදම් හා ඊට අදල රජයේ නිලධාරීන් ගේ විය පැහැදම් සඳහා;

(3) විවිධ ආගම් කටයුතු, චාරිත්‍ර පවත්වාගෙන යාම සඳහා;

(4) අධ්‍යාපනය දියුණු කිරීම සඳහා;

(5) දේවාලයක් හෝ කෝවිලක් සම්බන්ධයෙන් දුගී දුප්පත් අයගේ සහනය සඳහා සහ විහාරයක් සම්බන්ධයෙන් වන විටක භික්ෂූන්ගේ සහ අනෙකුත් අය සම්බන්ධයෙන් චාරිත්‍රානුකූල ආගන්තුක සත්කාර සඳහා;

(6) බෞද්ධ විහාර හා දේවාලගම් නීතිය ක්‍රියාත්මක කිරීම සඳහා;

(7) බෞද්ධ විහාර දේවාලගම් නීතිය යටතේ කරන වන්දි ගෙවීම් හා නීතිමය වියදම් සඳහා;

(8) බෞද්ධ විහාර හා දේවාලගම් නීතිය ක්‍රියාත්මක කිරීමේ දී භාරකරුවෙකු විසින් කරන ලද කටයුතු සඳහා භාරකරුවෙකුට කරන ගෙවීම් සඳහා;

(9) කොමසාරිස් විසින් අනුමත කරන ලද අනිකුත් අරමුණු සඳහා කරන වියදම් වේ.

## දේපළ ලැයිස්තුව (Inventory)

සෑම භාරකරුවෙකු හා පාලක විහාරාධිපති කෙනෙකු විසින්ම එම පන්සලට අයිති චංචල හා නිශ්චල දේපළ සම්බන්ධයෙන් කොමසාරිස්වරයා විසින් සාදන ලද ආකෘතියකට අනුව වූ දේපළ ලැයිස්තුවක් නොහොත් ඉන්වෙන්ටරියක් පවත්වා ගෙන යායුතු බව පනතේ 35(2) හි සඳහන් වේ.

භාරකරුවෙකු විසින් මෙසේ තැබීමට නියම වූ ගණන් තැබීමේ පොත් හා දේපළ ලැයිස්තුව සාධාරණ වේලාවක් තුළ කොමසාරිස්වරයාට හෝ කොමසාරිස්වරයාගෙන් ලිඛිතව බලයලත් නිලධාරියෙකුට පරීක්ෂා කිරීමට ඉඩදිය යුතුය. මේ බව පනතේ 35 (3) වගන්තියේ දක්වා ඇත. එසේම සෑම භාරකරුවෙකු විසින්ම සෑම වසරකම මාස 6 කට වරක් එම ගණන් හිලව් සම්බන්ධව

වාර්තාවක් සෑදිය යුතුය. මෙය සෑදිය යුත්තේ සෑම වසරකම ජූනි මස 30 වන දින සහ එම වසරේම දෙසැම්බර් මස 31 වන දින දීය.

මෙම වාර්තාව අවසානයේ එම භාරකරු විසින් එය සත්‍ය හා නිවැරදි වාර්තාවක් ලෙස සටහන් කළ යුතුය. එම මාස 06 ක කාලයක් අවසානයේ දී දින 30 ක් ඇතුලත එම භාරකරු විසින් තම වාර්තාව කොමසාරිස්වරයාට යැවිය යුතුය. එවැනි සෑම වාර්තාවක්ම එම පන්සලේ විහාරාධිපති විසින් අනු අත්සන් කළ යුතු අතර එය දළදා මාලිගාවේ නම් මල්වත්ත විහාරයේ හා අස්ගිරි විහාරයේ මහා නායක තෙරුන් විසින් අනු අත්සන් කර එවිය යුතුය. (පනතේ 36 (1) (2) වගන්තිය)

## ඇපයක් තැබීම (Security)

පනතේ ඇති විධිවිධානයන්ට යටත්ව විහාරයකට පත්වන භාරකරුවෙකු සිය ධූරයෙහි කටයුතු භාරගැනීමට පෙර, ඔහු විසින් සිය යුතුකම් බල තල හා වගකීම් නිසියාකාරයෙන් ඉටු කරන බවට ඇපයක් තැබිය යුතුය. එම භාරකරු භික්ෂුවක් වන අවස්ථාවක ඔහුගේම පෞද්ගලික ඇපයක් (personal security) තැබීමට අවශ්‍ය නොවන අතර එවන් අවස්ථාවක එම භාරකරු වෙනුවෙන් ඇප කරුවෙකු හෝ කීපදෙනෙකු (sureties) හෝ පත් කළ හැකිය. (13 වන වගන්තිය)

## මුදල් බැංකුවක තැන්පත් කිරීම

පන්සලකට ලැබෙන සියලුම ලැබීම්, කුලී, මුදල් දීමනා, ලාභ ආදිය ලංකා ඉතිරි කිරීමේ බැංකුවක හෝ කොමසාරිස් අනුමත කළ වෙනත් බැංකුවක වෙනම ගිණුමක් ලෙස තැන්පත් කළ යුතුය. මෙසේ තැන්පත් කළ යුත්තේ එම පන්සලේ නමින්ය. මේ ආකාරයට පන්සලකට ලැබෙන මුදල් ආදිය බැංකුවක තැන්පත් කළ යුතු බවට කොමසාරිස්වරයා විසින් ලිඛිතව විධාන කළ යුතුය. මෙසේ මුදල් තැන්පත් කිරීමෙන් පසු ලැබෙන බැංකු ගිණුම් පොත විගණකාධිපතිට හෝ වෙනත් විගණක නිලධාරියෙකුගේ පරීක්ෂණය සඳහා ඕනෑම අවස්ථාවක විවෘතව තැබිය යුතු බව පනතේ 24 වන වගන්තියේ පැහැදිලි කර ඇත.

ඉහතින් විස්තර වූයේ පන්සලක භාරකරුවෙකු විසින් ඉටුකළ යුතු සිය යුතුකම් හා වගකීම් වලින් සමහරකි.

මෙසේ පන්සලක භාරකරුවෙකු විසින් තම යුතුකම් ඉටු කිරීමේදී තමා අතින් වූ යම් වරදක් හෝ යම් අතපසු වීමක් සඳහා ඔහු පෞද්ගලිකව වගකීමකට යටත් වේද යන්න සොයා බැලිය යුතුය.

"බෞද්ධ විහාර හා දේවාලගම් නීතියෙන් පවරා දී ඇති බලතල යටතේ කළ යම් සද්භාවමය ක්‍රියාවක් සඳහා යම් නඩුවකදී එම භාරකරු විසින් හෝ පාලක විහාරාධිපති නඩු ගාස්තු සඳහා පෞද්ගලිකව වගකීමට යටත් නොවේ." (ආබද්ද එදි. ආබද්ද 29. නව. නීති. වාර්තා 256)

මේ අනුව සද්භාවයෙන් කළ ක්‍රියා සඳහා භාරකරුවෙකු හෝ පාළක විහාරාධිපති කෙනෙකු නඩුවකදී නඩු ගාස්තු වලට යටත් නොවේ. නඩු ගාස්තු වශයෙන් හැඳින්වෙන්නේ යම් නඩුවකදී විරුද්ධ පක්ෂය විසින් එම නඩුව වෙනුවෙන් වියදම් කළ සියලුම වියදම්ය. මෙම නඩු ගාස්තු තීරණය කරනු ලබන්නේ අධිකරණය විසින්ය.

මෙම නඩු ගාස්තු ගෙවීමේ වගකීමට යටත් නොවීමට නම් ඔහු එම නඩුවට ඇතුලුවිය යුත්තේ එම පන්සලේ භාරකාර හෝ පාළක විහාරාධිපති කෙනෙකු වශයෙනි. එසේම එම පත්වීම බෞද්ධ විහාර හා දේවාලගම් පනත යටතේ සිදුකර තිබිය යුතුය.

# බෞද්ධ විහාරාධිපති කෙනෙකුගේ යුතුකම් හෙවත් වගකීම්

# Duties and Responsibilities of Controlling Viharadhipathi

සෑම විහාරාධිපති කෙනෙකු විසින්ම පහත සඳහන් කරුණු ගැන උන්වහන්සේ සතුව ඇති විස්තර එම පන්සලේ භාරකරු විසින් හෝ බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් විසින් ඉල්ලූ විටකදී සැපයීම යුතුකමකි.

(අ) එම පන්සලට කරන ලද ලැබීම් වලින් එන වාර්ෂික ආදයම;

(ආ) පරවේනි දේපළ හා මාරුවෙන දේපළ වල ස්වභාවය, ප්‍රමාණය, වටිනාකම සහ අනෙකුත් දේපළ වල විස්තර;

(ඇ) එම පන්සල සතුව ඇති ඕනෑම චංචල හෝ නිශ්චල හෝ දේපළකින් ලැබෙන කුලී, ලාභ වල මාසික හෝ වාර්ෂික වටිනාකම් වල විස්තර.

එසේම මෙම විස්තර දීමේදී විහාරාධිපති කෙනෙකු විසින් ඕනෑකමින්ම අසත්‍ය විස්තර දෙන්නේ නම් හෝ භාරකරුවෙකුට ඔහුගේ යුතුකම් ඉටු කිරීමට බාධා කරන්නේ නම් උන්වහන්සේ වරදකට වරදකරු වන අතර දඩයකට යටත් වන බව නීතියේ සඳහන් වේ. (37 වන වගන්තිය) එසේම මීට කලින් පරිච්ඡේදයක විස්තර කරන ලද ආකාරයට ඉන්වෙන්ටරියක් හෝ දේපළ ලැයිස්තුවක් පවත්වා ගෙන යාමද විහාරාධිපති කෙනෙකු විසින් කළ යුතුය. මෙම දේපළ ලැයිස්තුව හා එම පන්සලේ ඇති දේපළ සම්බන්ධව ඇති ගණන් පොත් ආදිය පරීක්ෂා කිරීමට ඉල්ලූ විටකදී කොමසාරිස්වරයාට ඉඩ දීම විහාරාධිපති කෙනෙකු විසින් කළ යුතුය.

## නඩත්තු කිරීම

පන්සලක විහාරාධිපති කෙනෙකුගෙන් උන් වහන්සේගේ ශිෂ්‍ය භික්ෂුවක් විසින් තමාව නඩත්තු කරණ ලෙස ඉල්ලා සිටීමට

එම ශිෂ්‍ය භික්ෂුවට අයිතියක් ඇත. එසේ එවන් අවස්ථාවකදී එම ශිෂ්‍ය භික්ෂුව නඩත්තු කිරීම විහාරාධිපති කෙනෙකු ගේ යුතුකමයි. එම ශිෂ්‍ය භික්ෂුවට වෙනත් යැපීම් මාර්ගයක් හෝ ආදායම් මාර්ගයක් නොමැති විටක ඔහු විහාරාධිපති විසින් නඩත්තු කළ යුතු අතර, එය පාලක විහාරාධිපති කෙනෙකු විසින් මෙන්ම පන්සලක භාරකරුවෙකු සතු වන යුතුකමක් බව නීතිය සලකයි. මෙම නීති තත්ත්වය **සෝමානන්ද එ. සරණපාල** (46 න. නී. වාර්තා 538 පිටුව) යන නඩුවේදී පැහැදිලි කර ඇත.

මෙවන් විටක එම නඩත්තු ඉල්ලීම දිසා අධිකරණයක් මගින් විභාග කළ හැකි අතර එවන් විටකදී ශිෂ්‍ය භික්ෂුවක් විසින් ඔප්පු කළ යුත්තේ තමාට වෙනත් යැපීම් මාර්ගයක් නොමැති බවයි.

# භාරකරුවෙකුගේ හෝ පාලක විහාරාධිපති කෙනෙකුගේ අයිතිවාසිකම් සහ බලතල (Rights and Powers of Trustee or Controlling Viharadhipathi)

## ගිවිසුම් වලට එළැඹීම

පන්සලක භාරකරු විසින් හෝ පාලක විහාරාධිපති කෙනෙකු විසින් එම පන්සල වෙනුවෙන් හෝ එහි ඇති චංචල හෝ නිශ්චල දේපළ සම්බන්ධයෙන් ගිවිසුම් වලට එළැඹිය හැකිය. එසේම එම ගිවිසුම් ක්‍රියාත්මක කරවා ගත හැකිය. බෞද්ධ විහාර හා දේවාලගම් පනතේ 22 වන වගන්තියට අනුව මෙම පනතේ නීතිය ක්‍රියාත්මක වීම ආරම්භ වීමේ දිනට පෙර ඇතිකර ගත් ගිවිසුම් සම්බන්ධව පවා එම ගිවිසුම් වලින් පැන නගින යම් යම් ප්‍රශ්න සම්බන්ධව එම පන්සලේ තත් කාලයේ භාරකරු විසින් හෝ එහි පාලක විහාරාධිපති ලවා එම ගිවිසුම් ක්‍රියාත්මක කරවා ගත හැකිය. එසේම එම දිනයට පෙර එම පන්සලෙන් හෝ පන්සල වෙනුවෙන් වෙනත් අයෙකු ගත් ණය ගනුදෙනුවක් පවා එම භාරකරුට හෝ පාලක විහාරාධිපතිට ලබා ගත හැකිය.

## සාංඝික දේපළ බදුදීමේ අයිතිය (Right to Lease)

පන්සලක භාරකරු විසින් හෝ පාලක විහාරාධිපති විසින් එම පන්සලේ ඉඩම් සාධාරණ හේතු හා කොන්දේසි මත බදු දිය හැකි බව නීතියේ 29 වන වගන්තියේ විස්තර කර ඇත. මේ පිළිබඳ විස්තරයක් දේපළ පරිච්ඡේදය යටතේ විස්තර කර ඇත.

## සාංඝික දේපළක සන්තකය නැවත ලබා ගැනීම (Recovery of Possession of Sangika Property)

පන්සලක භාරකරුවෙකු එම පන්සලෙන් ඉවත්ව ගොස් ඇති අවස්ථාවක විහාරාධිපති කෙනෙකු විසින් නම් ඔහු විසින් හෝ වෙන අයෙකු මාර්ගයෙන් පන්සලක ඇති චංචල හෝ නිශ්චල දේපළ වල බුක්තිය ලබා ගෙන සිටින අවස්ථාවක සහ එම විහාරාධිපති විසින් එහි නීත්‍යානුකූල භාරකරුට බුක්තිය දීම ප්‍රතික්ෂේප කරන අවස්ථාවක එහි නීත්‍යානුකූල භාරකරු විසින් හෝ බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් විසින් හෝ බලය ලත් වෙනත් නිලධාරියෙකු විසින් අධිකරණයේ පවරන නඩුවක් මාර්ගයෙන් එම දේපළෙහි බුක්තිය ඉහත සඳහන් භාරකරුවෙකුගෙන් හෝ විහාරාධිපති කෙනෙකුගෙන් ලබා ගත හැකිය. (32 වන වගන්තිය)

පාලක විහාරාධිපති කෙනෙකු විසින් එම පන්සලේ පෝය ගේ නමැති ස්ථානයේ කාමරයක තාවකාලිකව පදිංචි වීමට උන්නාන්සේගේ ශිෂ්‍ය භික්ෂුවකට අවසර දුන්නේය. පසුව එම ශිෂ්‍ය භික්ෂුවට අදාළ කාමරයෙන් ඉවත් වන ලෙස ඉල්ලා සිටියද එසේ ඉවත් නොවී දිගටම රැඳී සිටියේය. මෙහිදී අධිකරණය තීරණය කර සිටියේ එම ශිෂ්‍ය භික්ෂුව විසින් තදින් අකීකරු වීම නමැති වරද (Guilty of contumacy) කර ඇති බවත් ඒ හේතුව මත එම පන්සලෙන් ඉවත් විය යුතු බවත්ය. ධම්මරත්න එ. ඉන්දසාර ස්ථවිර හිමි (47 න. නී. වා 460) සහ ධම්මානන්ද නායක තෙර එ. පියරත්න නායක තෙර (59 න. නී. වා. 412)

බෞද්ධ විහාරයක භුක්තිය නීති විරෝධී ලෙස අත්පත් කරගෙන සිටින අවස්ථාවක එහි භාරකරුට හෝ විහාරාධිපතිට එම භුක්තිය ලබාගැනීම සඳහා නඩු පැවරිය හැකිය. නමුත් නීති විරෝධී ලෙස ඇතුල් වී සිටින අය නෙරපීමේ බලය ඇති නියම පුද්ගලයා වන්නේ පන්සලේ භාරකරුය. එසේම භාරකරුගේ කැමැත්ත රහිතව පන්සලේ දේපළ මත ගොඩනැගිලි ඉදිකළ නොහැකිය. (තෙරුන්නාන්සෙ එදි තෙරුන්නාන්සෙ) (01 මාතර නඩු වාර්තා 220) එසේම මෙම නඩුවේදීම තව දුරටත් ප්‍රකාශ කර සිටියේ පන්සලක විහාරාධිපති කෙනෙකු විසින් වෙනත් පන්සලක

විසූ නිසාම එම විහාරාධිපති භික්ෂුවගේ අයිතිවාසිකම් අහිමි නොවන බවයි.

පන්සලක විහාරාධිපති කෙනෙකු විසින් තමාගේ විහාරාධිපති ධූරකාල සීමාව තුලදී කරන ලද වැඩි දියුණු කිරීම් සඳහා වන්දි ඉල්ලා සිටීමට අයිතියක් නැති බව **අත්තදස්සී උන්නාන්සෙ එදි. රේවත උන්නාන්සෙ (29 නව නීති වාර්තා 361)** හිදී ප්‍රකාශ විය.

භාරකරුවෙකු පන්සල් දේපළ සම්බන්ධව භාරකාරත්වය පමණක් දරන අයෙකි. පන්සලෙහි සේවා කටයුතු කරන අය ඔහුට අස් කිරීමට හෝ පත්කිරීමට බලයක් නැති බව **ගුණරත්න එ. පුංචිබන්ඩා** නඩුවේදී (28 න. නී. වාර්තා 145) ප්‍රකාශ විය.

**තෙරුන්වහන්සේ එදි. දොන් ආරොන් (34 න.නි.වා. 348)** බෞද්ධ විහාර දේවාලගම් පනතේ 20 වගන්තිය යටතේ භාරකරුට හිමි ව ඇති දේපළක භුක්තිය නැවත ලබාගැනීම සඳහා නඩුවක් පවත්වාගෙන යාමට විහාරාධිපති වහන්සේට (Incumbant) අයිතියක් නැති බව තිරණය විය.

# අඳ ගොවියන් විසින් විහාර සන්තක කුඹුරු වගා කිරීම පැහැර හැරීම

වර්ෂ 1991 අංක 04 දරණ ගොවිජන සේවා (සංශෝධන) පනතට අනුව විහාරස්ථානයකට, දළදා මාලිගාවට, දේවාල වලට සහ විහාරස්ථානවලට හෝ අයත් යම් කුඹුරු ප්‍රමාණයක අඳ ගොවියා (Tenant Cultivator) ඒ කුඹුරු බිම් ප්‍රමාණය ප්‍රයෝජනයට ගැනීම වෙනුවෙන් භුවමාරු වශයෙන් ඔහු විසින් ඒ විහාරස්ථානයට, දළදා මාලිගාවට, දේවාලවලට ඉටුකිරීමට නියමිත සේවාවන් ඉටුකිරීම (To perform such services) හෝ ඒ සේවාවන් වෙනුවට යුක්ති සහගත යැයි ගොවිජන සේවා කොමසාරිස්වරයා, විසින් තීරණය කරන මුදල් ප්‍රමාණයක් (To pay in lieu of such service) ඒ විහාරස්ථානයට දළදා මාලිගාවට, දේවාලවලට හා විහාරස්ථානවලට ගෙවීම හෝ පැහැර හැර ඇති බව ඒ විහාරස්ථානයේ විහාරාධිපතිවරයා හෝ දළදා මාලිගාවේ දියවඩන නිළමේතුමා විසින් හෝ දේවාලවල හා විහාරස්ථානවල බස්නායක නිලමේවරුන් සහ භාරකරුවන් විසින් ඒ අඳ ගොවියාට පිටපතක් සහිතව ගොවිජන කොමසාරිස්වරයා වෙත ලියවිල්ලකින් දැනුම් දෙනු ලැබූ අවස්ථාවක පරීක්ෂණ නිලධාරියෙකු ලවා පරීක්ෂණයක් පැවැත්වීමට කොමසාරිස්වරයා විසින් සලස්වනු ලැබිය යුතු ය.

ඉහත කී සේවාවන් ඉටුකිරීම හෝ එම සේවාවන් වෙනුවට ඒ මුදල් ප්‍රමාණය ගෙවීම, අඳ ගොවියා විසින් පැහැර හැර ඇති බව, ඒ විභාගයෙන් පසුව, පරීක්ෂණ නිලධාරියා විසින් තීරණය කරනු ලැබුවහොත් ඒ කුඹුරු ප්‍රමාණයෙන් ඉවත් වෙන ලෙස ගොවිජන සේවා කොමසාරිස්වරයා විසින් ඒ අඳ ගොවියාට නියම කළ යුතු අතර, ඒ නියමය අනුව ක්‍රියා කිරීම අඳ ගොවියා විසින් පැහැර හරිනු ලැබුවහොත් ඔහු ඒ කුඹුරු ප්‍රමාණයෙන් ඉවත් කරනු ලැබිය යුතුය.

# භික්ෂුවකට සාංඝික දේපළ භුක්ති විඳීමේ අයිතිය

මුලදී සාකච්ඡා කළ පරිදි බෞද්ධ භික්ෂුවකට තිබෙන ප්‍රධානතම අයිතිවාසිකමකි, සාංඝික දේපළ භුක්ති විඳීම. මෙය ඈත අතීතයේ පටන් භික්ෂූන් වහන්සේලා භුක්ති විඳි අයිතිවාසිකමකි. සාංඝික දේපළ සියලුම භික්ෂූන් වහන්සේලා සඳහා පූජා කළ දේපළ නිසා යම් භික්ෂුවකට සාංඝික දේපල භුක්ති විඳීමට ඉඩදිය යුතුය. එසේම සාධාරණ හේතුවක් මත මිස භික්ෂූන් වහන්සේ කෙනෙකුව සාංඝික දේපළකින් ඉවත් කළ නොහැකිය.

බුදුන් වහන්සේගේ කාලයේ පවා සාංඝික දේපලවල භුක්තිය සම්බන්ධව ආරවුල් ඇති වී තිබේ. භික්ෂූන් වහන්සේලා අතර මේ සම්බන්ධව ඇති වූ ආරවුලකදී බුදුන් වහන්සේ මෙසේ අවවාද දී තිබේ. "...මහණෙනි, කුපිත වී ක්‍රෝධ සිතින් කිසියම් භික්ෂුවක් සාංඝික වූ විහාරයකින් නෙරපා නොදැමිය යුතුය. කිසියම් භික්ෂුවක් එසේ නෙරපා දමයි නම්, උන් වහන්සේට ධර්ම විනය අනුව ක්‍රියා කළ යුතුයි. එහෙයින්, මහණෙනි සේනාසන බෙදා වෙන්කර ගන්නා ලෙස මම අවසර දෙමි..."

මෙම තත්ත්වයන් නඩු තීන්දු වලින් විස්තර වී ඇත්තේ මෙසේ ය.

**පියදාස එදි. - දේවමිත්ත හිමි (23 න.නි.වා. 24)** සාංඝික දේපළකට ඇති අයිතිය නොසලකමින් යම් පෞද්ගලික හේතුවක් හැර බෞද්ධ භික්ෂූන් වහන්සේ කෙනෙකු බෞද්ධ විහාරස්ථානයකින් ඉවත් කළ නොහැකි ය. නායක ස්වාමින්වහන්සේගේ කැමැත්ත රහිතව භික්ෂුන් වහන්සේ නමකට තනිව තමාටම විහාරස්ථානයේ විශේෂ ස්ථානයක් තෝරා ගැනීමේ අයිතියක් ඇති බව මෙයින් නොහැඟවේ. තදබල මුරණ්ඩුකමක් වැනි චෝදනාවක් පෞද්ගලික හේතුවකට අයත් හෙයින් භික්ෂුවක් ඉවත් කළ හැකි බව මෙම නඩුවේදී තීරණය විය.

චන්ද්‍රානන්ද තෙර එදි. කනම්බල සුමනජෝති තෙර (1986) ශ්‍රී ලංකා නීති වාර්තා (2) 181 නඩුවේදී ශ්‍රේෂ්ඨාධිකරණයේ විනිසුරන් තුන් දෙනෙකු විසින් තීරණය කර සිටියේ "පන්සලක් සාංඝික කළ විට හෝ එය සංඝයා සඳහා පූජාකළ විට එම පන්සල සියලුම සංඝයා වහන්සේලාට භුක්ති විඳිය හැකි බවයි. යම් භික්ෂූන් වහන්සේ කෙනෙකු උන් වහන්සේ එම ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවට අයිති නොවූවත් උන්වහන්සේට එම පන්සලේ එහි නායක විහාරාධිපති වහන්සේගේ අවසරය ඇතිව නැවතීමේ අයිතිය ඇත. නමුත් එම භික්ෂුවට එම පන්සලේ අරමුදල් (Temple Funds) වලින් නඩත්තු වීමේ අයිතියක් නැත. පන්සලක නැවතීමේ අයිතිය යම් භික්ෂුවකට ලබාගත හැකිය. එම නැවතීමේ ස්ථානය විය යුත්තේ එම පන්සලේ නායක විහාරාධිපති විසින් ඒ සඳහා වෙන්කළ කොටසක පමණි."

මෙයින් පැහැදිලි වන්නේ පන්සලක නැවතීමේ අයිතිය ඕනෑම භික්ෂුවකට ඇතත් ඒ සඳහා එහි විහාරාධිපති වහන්සේගේ අවසරය ප්‍රථමයෙන් තිබිය යුතුය. එසේම තමා එහි නැවතී සිටිය යුත්තේ නායක විහාරාධිපති වහන්සේ විසින් ඒ සඳහා වෙන්කළ කොටසේ පමණි.

**පේමරත්න හිමි එදි. - ඉන්දසාර හිමි (40 න.නි.වා. 235)**
අනාචාර හැසිරීම හේතු කොට ගෙන ඒ සඳහා අධිකරණ බලය ඇති විනිශ්චය අධිකාරියක් (tribunal) විසින් නෙරපා හරින තුරු භික්ෂුවකගේ සංඝ සාමාජිකයත් නතර නොවේ.

# භික්ෂුවකට ගිහි දේපළවල උරුමය ලැබෙන අයුරු

උඩරට නීතියට අනුව, කෙනෙකු භික්ෂුවක් වූ පසු සිය මවගේ බූදලයට ඔහුට තිබෙන අයිතිවාසිකම අහිමි නොවන බව මැණිකා එදි. නෙයිනා (26 නව නී. වාර්තා 111) නඩුවේදී තීරණය වී ඇත. උඩරට නීතියට අනුව පිරිමි දරුවෙකු භික්ෂුවක් වුවද ගිහියෙකු වුවද ඔහුට මවගේ උරුමයන් සම්බන්ධව සමාන අයිතියක් ඇති බව නීති නිසන්ඩුව ප්‍රකාශ කරයි.

පියා ජීවත්ව සිටියදී ඔහුගේ අනුදැනීම ඇතිව සිවුරු හරින භික්ෂුව තමාගේ පිය උරුමයට තිබෙන අයිතිවාසිකම යළිත් හිමිකර ගනී. යම් භික්ෂුවක් පවුලේ එකම දරුවා වී නම් ඔහු පිය උරුමයට හිමිකම් ලබන බවත්. එසේම යම් භික්ෂුවක් අනාථ වූ අවස්ථාවක තම දෙමව්පියන්ගේ දේපළවල ආදායමින් ජී කීමට අයිතියක් ඇති බවත් නීති නිසණ්ඩුව නමැති ග්‍රන්ථයේ සඳහන් වී ඇත.

# 5

# විහාරාධිපති කෙනෙකුගේ පත්වීම

## (Appointment of Viharadhipathi)

පන්සලක විහාරාධිපති කෙනෙකු ලෙස හැඳින්වෙන්නේ එම පන්සලේ ප්‍රධාන භික්ෂුවයි. පන්සලක විහාරාධිපති කෙනෙකුගේ ඇවෑමෙන් තවත් විහාරාධිපති කෙනෙකු නීත්‍යානුකූලව එම තනතුරට පත්වීම හා පන්සලක විහාරාධිපති ධූරයට නීත්‍යානුකූලව අනුප්‍රාප්තිය ලැබීම මෙම පරිච්ඡේදයෙන් විස්තර කරනු ලැබේ.

මෙකී අනුප්‍රාප්තිය සම්බන්ධව කිසිම විස්තරයක් බෞද්ධ විහාර හා දේවාලගම් පනතේ විස්තර නොකරන අතර එම නීති තත්ත්වය නඩු තීන්දු මගින් දීර්ඝ කාලයක් තිස්සේ විකාශනය වෙමින් පැවතගෙන එන නීති තත්ත්වයකි. එසේම පුරාණයේ සිටම පන්සලක විහාරාධිපති ධූරයට පත්වීම චාරිත්‍රානුකූලව සිරිත් මත රඳා පැවතුණි. මෙම තත්ත්වය දැන් අධිකරණය මගින් ගොඩනගන නීති මගින් වර්ධනය වෙමින් පවතී.

බෞද්ධ විහාර හා දේපළ වල එහි විහාරාධිපති ධූරයට පත්වීම සම්බන්ධව මුල්ම අධිකරණ නියෝගය ලැබූ සිද්ධිය හැටියට සැළකිය හැකි ප්‍රශ්නය හට ගැනුනේ වර්ෂ 1838 පමණ ඈත අතීතයේ බව අපට පෙනේ. එනම් වර්ෂ 1838 දී හුදුහුම්පොල විහාරයේ

විහාරාධිපති (රඹුක්වැල්ල උන්වහන්සේ) විහාරාධිපති ධූරයෙන් ඉවත් කිරීම සම්බන්ධව මෙම ප්‍රශ්නය හටගැනුනි. මෙම ඉවත් කිරීම රජය විසින් කරන ලද්දකි. ඊට හේතුව වූයේ උන්වහන්සේ සියම් නිකායේ සිට අමරපුර නිකායට මාරුවීමයි. (Crossed over) පසුව ඒ සඳහා අස්ගිරිය විහාරයේ වාරියපොල උන්වහන්සේ ඒ සඳහා පත්කෙරිනි. පසුව එකී පත්කිරීම ශ්‍රේෂ්ඨාධිකරණය විසින් තහවුරු කර ඇත.

අතීතයේ ඉංග්‍රිසි පාලකයන් මෙරට පාලනය කරන කාලයෙහි මේ සම්බන්ධව දී ඇති අධිකරණ නියෝග දෙස බලන විට පෙනී යන්නේ විහාරාධිපති කෙනෙකුව පත්කිරීම, ඉවත් කිරීම සම්බන්ධව රජය මැදිහත් වී ඇති බවයි.

වර්ෂ 1859 පූජ්‍ය ගල්ගම අත්තදස්සී තෙර ශ්‍රී පාදස්ථානයේ (Sri Padasthana/Adams Peak) විහාරාධිපති ලෙස මල්වත්ත පාර්ශවය විසින් පත් කෙරිනි. මෙම පත්වීම ආණ්ඩුකාර සර් හෙන්රි වෝඩ් මැතිතුමාද පිළිගෙන තිබුනි. වර්ෂ 1866 දී සබරගමුව පළාතේ සියම් නිකායේ භික්ෂූන් විසින් විහාරාධිපති ධූරයෙන් අත්තදස්සී තෙර විෂමාචාරය හා අයෝග්‍යතාවය (Misconduct and incapacity) යන හේතු මත ඉවත් කරමින් පූජ්‍ය හික්කඩුවේ ශ්‍රී සුමංගල තෙරුන් වහන්සේව පත්කරන ලද අතර එකී පත්වීමද එකල සිටි ආණ්ඩුකාරවරයා විසින් පිළිගෙන තිබුණි. මෙයින් දෙවනුව කරන ලද පත්වීම එකල ශ්‍රේෂ්ඨාධිකරණය විසින් 1871 දී තහවුරු කරමින් මෙසේ ප්‍රකාශ කර ඇත. "අප හිතන ආකාරයට අත්තදස්සී තෙර ඉවත් කිරීමේ බලය රජයටද තිබෙන අතර එකී ඉවත් කිරීමේ ක්‍රියාව ස්ථිර කිරීම රජයට කළ හැකිය. අප හිතන ආකාරයට ශ්‍රී සුමංගල තෙරුන්ගේ පත්වීම වලංගු වේ."

හේමාලෝක තෙර එ. සන්දනන්ගම අත්තදස්සී (1991) 2 එස්. එල්. එල්. ආර්. 224 - නඩුවේදී තීරණය වූයේ ප්‍රධාන පන්සලකට සම්බන්ධව ඊට අනුබද්ධිත තවත් පන්සල් ප්‍රධාන පන්සල හා එක්ව එකිනෙකට සම්බන්ධව පවතින බවය. විහාරාධිපති ධූරයේ අනුප්‍රාප්තිය ලැබීමේදී නිතරම ප්‍රධාන පන්සල හා සම්බන්ධව ඒ ගැන සලකා බැලිය යුතුය. ප්‍රධාන පන්සලේ විහාරාධිපති හිමිට අනික් පන්සල් සම්බන්ධව අයිතිවාසිකම් ඇත. තවද විහාරාධිපති

ධූරයක් බෙදිය නොහැකි බවද තීරණය විය. මෙයින් පැහැදිලි වන්නේ විහාරාධිපති ධූරයක් සඳහා හවුල් අයිතියක් ඇරිය නොහැකි බවයි. හවුල් අයිතිය යනු පොදුවේ පවතින අයිතියකි. විහාරාධිපති ධූරයක් සඳහා පොදු අයිතියක් නොපවතී.

බෞද්ධ නීතියට අනුව විහාරාධිපති ධූරයට පත්වීම ප්‍රධාන කොටම සිදුවන්නේ ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව අනුව යන නීතිය මගිනි. අනික් ක්‍රමය නම් සිවුරු පරම්පරාව අනුව යන ක්‍රමයයි. සිවුරු පරම්පරා ක්‍රමය යනු මුල් විහාරාධිපතිගේ ලේ ඥාති සම්බන්ධතාවය උඩ ලබන අනුප්‍රාප්තියක් බව උන්නාන්සේ එදි. උන්නාන්සේ (22 නව නීති වාර්තා 323) යන නඩුවේදී පැහැදිලි වී ඇත. තවද අනුප්‍රාප්තිය සම්බන්ධයෙන් වෙනත් රීතියක් සම්බන්ධයෙන් සාක්ෂි නොමැති විට ශිෂ්‍යා, ශිෂ්‍ය පරම්පරා රීතිය පූර්ව නිගමනය කරයි. එහෙත් මෙහිදී විහාරාධිපති කමට සුදුසුකම් ඉදිරිපත් කරන්නේ මෙම විහාරස්ථානයේ විහාරාධිපති පත්වීමේ වෙනත් සම්ප්‍රදායක් අනුවයි.

සිවුරු පරම්පරාව යන්නට ඥාති ශිෂ්‍ය පරම්පරාව යනුවෙන්ද හඳුන්වනු ලබයි. සිවුරු පරම්පරාව සම්බන්ධයෙන් අස්ගිරි පාර්ශ්වය සහ මල්වතු පාර්ශ්වය මත දෙකක් දරති. අස්ගිරි පාර්ශ්වය සඳහන් කරන ආකාරයට සිවුරු පරම්පරාව යනු ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවේම එක්තරා කොටසකි. මල්වතු පාර්ශ්වයට අනුව සඳහන් වන්නේ එහි විහාරාධිපතිගේ ගිහි පවුලේ අයෙකු සිවුරු පොරවා මහණ කළ හැකි බවයි. නමුත් මෙසේ සිවුරු පොරවා ගිහියෙකු විහාරාධිපති පදවියට පත්කිරීම අස්ගිරි පාර්ශ්වය පිළිනොගනී.

සංඝරත්න උන්නාන්සේ එදි. වීරසේකර (6 නව නීති වාර්තා 313) නඩුවේදී 1903 දී පමණ ලෙයාර්ඩ් අග විනිසුරු, වෙන්ඩ්ට් විනිසුරු සමග තීන්දු කර සිටියේ පන්සල පූජා කිරීමට අදල කොන්දේසිවල දක්වා ඇති ක්‍රමයන්ට අනුකූලව විහාරාධිපති පදවිය සඳහා අනුප්‍රාප්තියක් ලබාදිය යුතු බවය. විහාරාධිපති පදවියට අනුප්‍රාප්තිය සඳහා යම් නිශ්චිත ක්‍රමයක් හඳුන්වා දී නැති අවස්ථාවක ඒ සඳහා අනුගමනය කළ යුත්තේ ශිෂ්‍යානු ශිෂ්‍ය පරම්පරා රීතිය බවට පූර්ව නිගමනය කළ යුතුය. මෙම රීතීන් උඩරට පළාතට

පමණක් සීමා නොවන අතර, මුහුදු බඩ පළාත් වලටද යොදගත හැකිය. එසේම කෙනෙකු විසින් ඊට වෙනස් ක්‍රමයක් මේ සඳහා යොදා ගත යුතු බව යෝජනා කරන්නේ නම් ඔහු විසින් එය ඔප්පු කළ යුතු වේ.

බෞද්ධ විහාරාධිපති කෙනෙකුගේ පත්වීම සිදුවනුයේ කවර අනුප්‍රාප්ති ක්‍රමයටද යන්න තීරණය කිරීම, එම විහාරය සංඝයාට පූජා කිරීමේදී ඊට අදාල කොන්දේසිවලට අනුකූලව කළ යුතුය. එම කොන්දේසිවල ඒ සම්බන්ධ කරුණු අඩංගු නොවන්නේ නම් හෝ ඒවා සාක්ෂි මගින් ඔප්පු නොවන්නේ නම් එවිට සිවුරු පරම්පරාව අනුවයන ක්‍රමයද අදාළ නොවන විටක ඒ අවස්ථාවේදී ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා ක්‍රමය යෙදිය යුතුය. (39 නව නීති වාර්තා 251) (සුමනතිස්ස එදි. ගුණරත්න නඩුව) විහාරාධිපති ධූරය සඳහා අනුප්‍රාප්තිය දීමේ අයිතිය විහාරාධිපති කෙනෙකු විසින් වෙනත් කෙනෙකුට පැවරිය නොහැකිය.

එක් නඩුවකදී ප්‍රකාශ වුන පරිදි පන්සලක විහාරාධිපති කෙනෙකු විසින් තමාගේ ගෝල භික්ෂුවක් තමාගෙන් පසු විහාරාධිපති ධූරයට තමාගේ අනුප්‍රාප්තිකයා ලෙස හා තමාගේ පොල්මෑක්කරු ලෙස නම් කරමින් ලියවිල්ලක් ලියා තබන ලදී. එහෙත් මෙහි දේපල පවරා දීමක් ගැන පැහැදිලි කරුණු සඳහන් කිරීමක් කර නොතිබුණි. මේ සම්බන්ධයෙන් අධිකරණය තීරණය කර සිටියේ කලින් ලියා තැබූ ලියවිල්ල අන්තිම කැමති පත්‍රයක් බවත්, පොල්මෑක්කරුට ඒ සම්බන්ධයෙන් ප්‍රොබේට් බලපත්‍රය ලබාගත හැකි බවත්ය. (44 නව නීති වාර්තා 365)

මෙහි පොල්මෑක්කරු ලෙස හැඳින්වෙන්නේ දේපළක් හෝ යම් පැවරීමක් අන්තිම කැමති පත්‍රයකින් පවරා ඇති විටක එම පැවරීම සොයා බලා ඒවා ක්‍රියාත්මක කිරීමට පත්කරන පුද්ගලයාය. ඔහුට ඒ සම්බන්ධයෙන් අවසර දෙන ලියවිල්ල ප්‍රොබේට් බලපත්‍රයයි.

මෙයින් පැහැදිලි වන්නේ අන්තිම කැමති පත්‍රයකින් විහාරාධිපති කෙනෙකු පත්කළ හැකි බවයි.

කෙසේ වෙතත් **පියතිස්ස හිමි එදිරිව සරණපාල හිමි** (40 න.නී.වා. 262) නඩුවේ දී තීරණය වූයේ බෞද්ධ විහාරස්ථානයක විහාරාධිපතිට තම ශිෂ්‍යයන්ගෙන් කෙනෙකු තමාගේ ඇවෑමෙන් අනුප්‍රාප්තිකය, ලෙස නම් කිරීමට හිමිකමක් ඇති බවයි. එබඳු නම් කිරීමක් ඔප්පුවකින් හෝ අන්තිම කැමති පත්‍රයකින් (Will) කළයුතු යැයි අවශ්‍යතාවයක් නැත.

**සෝමරත්න එදි. ජිනරත්න** (42 නව නීති වාර්තා 361) නඩුවේදී බෞද්ධ විහාර නීතියට අනුව බෞද්ධ භික්ෂුවක් ශිෂ්‍යභාවයට පත්වනුයේ සිවුරු පෙරවීම මගින් හෝ උපසම්පදාව මගින් බවත් සිවුරු පොරවනු ලැබූ ශිෂ්‍ය භික්ෂුවකට උපසම්පද නොලැබුවද විහාරාධිපති ධූරයට පත්වීමේ අයිතිය හිමි වන බවත් තීරණය විය.

විහාරාධිපති ධූරයට ශිෂ්‍යයෙකුගේ නම යෝජනා කිරීම වාචිකව කළ හැකිය. එය වාචිකව සිදුකිරීමට එරෙහිව නීතිමය බාධක නොපවතී. **පඤ්ඤාලෝක තෙර එරෙහිව සන්ගානන්ද තෙර (1991 ශ්‍රී.ල.නී.වා 2-230)**

**හේමාලෝක තෙර එ. සන්දනන්ගම අත්තදස්සී** (1991) 2 එස්.එල්.එල්.ආර් 224 හිදී පන්සලක විහාරාධිපති හිමියන් විසින් තමාට විශේෂිත වූ ඕනෑම ශිෂ්‍යයෙකු තමාගේ අනුප්‍රාප්තිකයා ලෙස පත් කිරීමට අයිතියක් ඇති බව තීරණය විය.

# ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය
## (Puppillary Succession/ Sisyanusisya Paramparawa)

මෙකී අනුප්‍රාප්ති ක්‍රමය අද මෙරටේ පන්සලක විහාරාධිපති කෙනෙකු පත්වීමේදී බහුලව අනුගමනය කරන ක්‍රමයයි. විහාරස්ථානයක, විහාරාධිපති කෙනෙකුගේ අභාවයෙන් පසුව ඉතිරි වන ප්‍රධාන ගෝල භික්ෂුවට එනම් ඉවත් වුනු විහාරාධිපති භික්ෂුවගේ වැඩිමහල් ගෝල නමට මේ අනුව විහාරාධිපති ධූරය හිමිවේ.

වර්තමාන ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය පුරාණ චාරිත්‍ර හා මිශ්‍රව උසාවි මගින් ගොඩනංවා ඇති නීතියකි. මෙම නීති තත්ත්වය ක්‍රි.පූ. 01 වන ශත වර්ෂයේදී බුද්ධ ධර්මය ලේඛනාරූඪ කරන තුරු පැවති සම්ප්‍රදායානුකූල ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතියට සම්පූර්ණයෙන් වෙනස් විය. සම්ප්‍රදායානුකූල එනම් ඉපැරණි සංකල්පයට අනුව ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවට ඇතුල් වීම සඳහා :-

(අ) ධර්ම අධ්‍යයනය

(ආ) ධර්මය පුහුණු කිරීම හා

(ඇ) ධර්මානුකූල පැවැත්ම යන අංග සම්පූර්ණ කළ යුතු විය.

මෙසේ කළ හැකි වූයේ උපසම්පදාවෙන් පසු භික්ෂූන් වහන්සේ කෙනෙකු විසින් ධර්මානුකූල ජීවිතයක් සැහෙන කාලයක් ගත කළ හොත් පමණි. මේ ආකාරයෙන් වැඩි කාලයක් ගතකළ අයෙකු ශාසනය ඉදිරියට ගෙන යාමට වැඩි සුදුසුකමක් ලැබ ඇතැයි සලකති.

නමුත් පසු කලකදී මෙකී සුදුසුකම් අත්‍යවශ්‍ය අංග නොවූ අතර ඒ සඳහා අවශ්‍ය වන්නාවූ නීති තත්ත්වය දීර්ඝ නඩු තීන්දු මාලාවක් ඔස්සේ විකාශනය වන්නට විය. ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය අනුව අනුප්‍රාප්තිය ලැබීමට නම් මුලින්ම විහාරාධිපති ධූරය අපේක්ෂා කරන භික්ෂුව විහාරාධිපති භික්ෂුවගේ ශිෂ්‍යයෙකු ලෙස ජීවත් වී සිටීම අවශ්‍ය වේ.

ශිෂ්‍යයෙකු යැයි තහවුරු කිරීමට අවශ්‍ය කරුණු මොනවාද යන්න ධම්මජෝති එදි. සෝභිත (16 නව නීති වාර්තා 408) යන නඩුවේ දී සාකච්ඡා විය. එනම් ශිෂ්‍ය භාවය (Pupilage) තහවුරු කිරීම සඳහා සිවුරු පෙරවීම අවශ්‍ය අංගයකි.

(අ) සිවුරු පෙරවීම (Robing)

(ආ) කීකරුව විසීම (Obedience) සහ

(ඇ) උපසම්පද කරවීම (Ordination) යන අංග තුන හෝ මෙකී අංග වලින් ඕනෑම දෙකක් තහවුරු කිරීම තුළින් තමා ශිෂ්‍යයෙකු බව ඔප්පු කළ හැකි බව මෙම නඩුවේ දී තීන්දුවිය.

ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතිය හිමිවීමේදී ගෝල භික්ෂුව විසින් ගුරු භික්ෂුව යටතේ මහණවීමෙන් එකී ගුරු භික්ෂුව විසින් ගෝල භික්ෂුව උපසම්පද කරවීමත් කළ යුතු බව එක් නිකායක සංඝයා වහන්සේලාගේ මතය වන අතර, තවත් සමහරක් සංඝයා වහන්සේලාගේ මතය වන්නේ එකී ශිෂ්‍යානුශිෂ්‍ය පාරම්පරික අයිතිය හිමිවීමට නම් ගුරු භික්ෂුව යටතේ මහණවීම හෝ උපසම්පද ලැබීම ප්‍රමාණවත් බවයි.

පැවැදි බිමට එළඹෙද්දී ගුරු කොටගත් ආචාර්‍යවරයාත් උපසම්පද කර්මයෙහිදී ගුරු කොටගන්නා ආචාර්‍යවරයාත් එකම භික්ෂුවකු විය යුතු යැයි කිසි තැනක සඳහන් නොවේ.

එක භික්ෂුවකට ආචාර්යයන් වහන්සේ දෙනමකගේ ශිෂ්‍යභාවයට පත්විය හැකිය. ඔවුන් දෙදෙනාම ඇවෑමෙන් හිමිකම් ලද හැකිය. මේ බව ධම්මජෝති එදි. සෝබිත නඩුවේදී (16 නව නීති. වා 408) තීරණය වී ඇත.

සාමාන්‍යයෙන් බෞද්ධ විහාරයක විහාරාධිපති පදවිය සඳහා අනුප්‍රාප්තියක් ලබන වෙනත් ක්‍රමයක් හඳුන්වා දී නැත්නම් ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතින් යෙදෙන බවට පූර්ව නිගමනයක් පවතී. ඊට වෙනස් ක්‍රමයක් වේ නම් එසේ වෙනස් ක්‍රමයක් ඇතැයි, කියා සිටින අය විසින් එය ඔප්පු කළ යුතුය. උන්නාන්සේ එදි. උන්නාන්සේ (22 නව නීති වාර්තා 323) අමරවංශ තෙර එදි. අමරඥාන තෙර (1985-2- එස්. එල්. එල්. ආර් 275) රත්නපාල

උන්නාන්සේ එදි. කෙව්ටිගල උන්නාන්සේ (1979-2- එස්. එල්. එල්. ආර්. 26) යන නඩුවලදී මේ බව පැහැදිලි කර ඇත.

පාළක විහාරාධිපති භික්ෂුවට තමාගේ ශෝලයන් කීප දෙනෙකු පොදුවේ විහාරාධිපති ලෙස පත්කළ හැකියි. ඔවුන් විසින් ඔවුන්ගේ ජ්‍යෙෂ්ඨත්වය අනුව විහාරාධිපති ධූරය දැරිය යුතුය. මෙම ක්‍රමය ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතියට පටහැනි නොවේ.

අමරවංශ තෙර එදි. අමරඥාණ තෙර - (1985 (2) ශ්‍රී ලංකා නීති වාර්තා (275-291) යන නඩුවේදී විහාරාධිපති අරියවංශලංකාර ඥාණතිලක තෙර විසින් 1941 වර්ෂයේ අංක 402 දරණ අන්තිම කැමති පත්‍රය මගින් උන්වහන්සේගේ ශෝල භික්ෂූන් වන පිළිවෙලින් වෙල්ලබඩ ඥාණවංශ තෙර, වෙල්ලබඩ උත්තම ඥාණතෙර, වෙල්ලබඩ ඥාණවිමල තෙර, අලපලාවල මහින්ද ඥාණ තෙර සහ ගිවිලිපිටියේ මහින්ද බුද්ධ තෙර යන අය මෙම විහාරස්ථානයේ විහාරාධිපති කමට තමාගේ අනුප්‍රාප්තිය ලැබීම සඳහා පත්කරණ ලදී. ඥාණතිලක ස්වාමීන් වහන්සේ ගෙන් පසුව ඥාණවංශස්වාමීන් වහන්සේ අනුප්‍රාප්තිය ලැබ උන්වහන්සේද 1953 අපවත් විය. පසුව උත්තම ඥානතෙර නායකත්වයට පත්ව උත්තම ඥාන තෙර විසින් වෙනත් භික්ෂුවක් වූ විජේඥාණ තෙරව තමාගෙන් පසුව අනුප්‍රාප්තිය ලැබීම සඳහා පත්කර උත්තම ඥාන තෙර අපවත් විය. පසුව ඥාණවිමල හෝ මහින්දඥාන තෙරුන්ට එහි විහාරාධිපති කමට පත්වීමට නොහැකි විය.

උත්තම ඥාණ තෙර විසින් ආරියවංශාලංකාර තෙරගේ අන්තිම කැමති පත්‍රයට විරුද්ධ ආකාරයට වෙනත් භික්ෂුවක් විහාරාධිපතිකමට පත් කර තිබිණි. උන්වහන්සේ විසින් මේ නඩුව පවරා තිබුණි.

මෙම නඩුවේදී, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය යනු කුමක්ද යන්න නිර්වචනය කිරීමේදී ඒ සඳහා මත දෙකක් ඇති බවත්, මල් වත්ත පාර්ශ්වයේ මහානායක තෙරුන් සහ අස්ගිරිය පාර්ශවයේ මහ නායක තෙරුන් විසින් ඉදිරිපත් කර ඇති මෙම මත දෙකකින් මල්වත්ත පාර්ශවය විසින් ඉදිරිපත් කර ඇති මතය වඩාත් පිළිගත හැකි බව මෙම නඩුවේදී ප්‍රකාශ විය.

"භික්ෂුවකට අදාල පන්සලක ඇති විහාර හා දේපළ ආදිය සම්බන්ධව උන්වහන්සේට ගෝල භික්ෂූන් වහන්සේලා පස්නමක් සිටියදී හෝ ඊට වැඩි ප්‍රමාණයක් සිටියදී ඉන් එක් ගෝල භික්ෂුවකට සම්පූර්ණ ත්‍යාගයක් කොට පවරා ඇති අවස්ථාවක එය එම ගෝල භික්ෂුවට පැවරේ.

එසේම එම ගෝල භික්ෂුව පසුව එයට අනුප්‍රාප්තිය ලබයි. මේ ආකාරයට ගෝල භික්ෂූන් විසින් අඛණ්ඩව අනුප්‍රාප්තිය ලැබීම ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා අනුප්‍රාප්තිය ලෙස හඳුන්වනු ලබයි.

විහාරාධිපති භික්ෂුව විසින් අදාල පැවරීමට එම සියලුම භික්ෂූන් වහන්සේලාට පොදු බවක් ප්‍රකාශ කර ඇති අවස්ථාවක උන්වහන්සේලා සියලු දෙනාම ඊට අයිතිය ලබති. එසේම ඉන් එක ගෝල භික්ෂුවක් ප්‍රධාන භික්ෂුව ලෙස තෝරා පත්කර ගත හැකිය. අනිකුත් ගෝල භික්ෂූන් වහන්සේලා විසින් අදල විහාරස්ථානයේ භුක්තිය විඳිය හැක. ප්‍රධාන භික්ෂුව අපවත් වූ විටක නිලයෙන් දෙවනුවට සිටින භික්ෂූන් වහන්සේ ප්‍රධාන භික්ෂූන් වහන්සේ ලෙස පත්වෙති. ජීවත්ව සිටින අවසාන ගෝල භික්ෂුව තෙක් මෙම අන්පිළිවෙලට පත්වීම ලැබෙන අතර ඊට පසුව වෙනත් අයෙකුට පැවරි මේ බලය ලැබේ. නමුත් ප්‍රධාන භික්ෂුවට තමාගේම ගෝල භික්ෂූන් අත හැර තමන් කැමති ඕනෑම අයෙකුට තමාගේ අයිතිවාසිකම පැවරිය හැකිය. ප්‍රධාන භික්ෂුව අන්තිම කැමති පත්‍රයක් රහිතව අපවත් වූ අවස්ථාවක ප්‍රධාන භික්ෂුව ලෙස දෙදෙනෙකු සම අයිතිවාසිකම් ලබා සිටියානම් ජීවත්ව ඉතිරිවන භික්ෂුවට එය පැවරේ." (මූනමලේ සහ ජී.පී.එස්. ද සිල්වා විනිසුරුවරුන්)

මෙම නීති තත්ත්වය බර්ට්‍රම් අගවිනිසුරු සහ ජයවර්ධන විනිසුරු විසින් ගුනානන්ද උන්නාන්සේ එදි. දේවරක්ඛිත උන්නාන්සේ (26 නව නිති වාර්තා 257) හිදී විභාග කොට ඇත්තේ මෙසේය. බර්ට්‍රම් අග විනිසුරු; විහාරයක ඇති විහාර දේපළ පැවරුම්ලාභී වන එහි ප්‍රධාන භික්ෂුව (Original Proprietor) ලෙස උන්වහන්සේට පහත සඳහන් ඕනෑම ක්‍රියාවක් කළ හැකිය.

1. උන්වහන්සේට ගෝලයන් කීපදෙනෙක් සිටිනම්, එයින් එක් අයෙකුට සම්පූර්ණ ත්‍යාගයක් කොට පැවරිය හැකිය. මෙවන් අවස්ථාවක එකී විහාර දේපල එකී ගෝල භික්ෂුව වෙත සම්පූර්ණයෙන් පැවරේ. එම ගෝල භික්ෂුව විසින් ඔහුගේ ගෝල භික්ෂුවකට ඒ සමාන පැවරීමක් කළ හැකිය. මෙම ක්‍රමය අඛණ්ඩව පවත්වා ගෙන යන අවස්ථාවක ඊට ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව යැයි කියනු ලැබේ.

2. ප්‍රධාන භික්ෂුවට තමාගේ සියලුම ගෝල භික්ෂූන්ට පොදුවේ පැවරීම කළ හැකිය. මෙවන් අවස්ථාවක එකී සියලුම ගෝල භික්ෂූන්ට එය භුක්ති විඳීම කළ හැකිය. නමුත් ඉන් කෙනෙකු ප්‍රධාන භික්ෂුව ලෙස තෝරා ගත යුතුය. මේ ආකාරයට එම සියලුම ගෝල භික්ෂූන්ට අනුප්‍රාප්තිය ලැබිය යුතුය. අන්තිමට ජීවත්ව සිටින ප්‍රධාන භික්ෂුවට තමන් කැමති ඕනෑම කෙනෙකුට පැවරීම කළ හැකිය.

3. ප්‍රධාන භික්ෂුවට තමාගේ ගෝල භික්ෂුවක් වෙත සහ සියලුම ගෝල භික්ෂූන්ට මෙම පැවරීම කරනවා වෙනුවට, උන්වහන්සේ කැමතිනම් ඔවුන්ගේ ගෝල භික්ෂූන් අතහැර වෙනත් අයෙකුට තම අයිතිවාසිකම පැවරිය හැකිය.

4. ප්‍රධාන භික්ෂුවට මෙකී කිසිම අනුප්‍රාප්ති ක්‍රමයක් අනුගමනය නොකොට අන්තිම කැමති පත්‍රයකින් පත්කිරීමක් නොකොට අපවත් විය හැකිය.

ජයවර්ධන විනිසුරුඃ

1. භික්ෂුවකට ගෝල භික්ෂූන් කීප දෙනෙක් ඇතිවිට, එය පැවරුම්ලාභී ගෝල භික්ෂුව වෙත එම විහාර දේපල තනිකර පැවරේ.

2. ප්‍රධාන භික්ෂුව විසින් තමාගේ සියලුම ගෝල භික්ෂූන්ට පොදුවේ පැවරීම කර ඇත්නම් ඔවුන් සියලුම අය වෙත එය පැවරේ. එයින් එක් අයෙකු ප්‍රධානියා ලෙස පත්කර ගත යුතුය. අනික් අයට ලැබෙනුයේ එකී දේපල භුක්ති විඳීම පමණි. ප්‍රධානීන් අපවත් වූ විටක නිලයෙන් දෙවනුවට සිටින ඉහළම අය ප්‍රධානීන් ලෙස පත්වේ. ජීවත්ව සිටින

අන්තිමයා දක්වා මෙම ක්‍රමය අනුගමනය වේ. අන්තිම භික්ෂුව විසින් ඊළඟට තමන් කැමති කෙනෙකුට පැවරිය හැකිය.

3. ප්‍රධාන භික්ෂුව විසින් තමන්ගේ සියලුම ගෝල භික්ෂූන් අත්හරිමින් වෙනත් අයෙකුට තමාගේ අයිතිවාසිකම් පැවරිය හැකිය.

4. පැවරීමක් නොකර ප්‍රධාන භික්ෂුව මිය ගිය විටක එම ස්ථානයට රොක්වන සියලු ගෝල භික්ෂූන් පොදු අයිතිවාසිකම් ලබයි.

5. භික්ෂූන් දෙදෙනෙකු සම සමව අයිතිවාසිකම් ලබන අවස්ථාවක කෙනෙකු අපවත්වී ඉතිරිවන අයට සියලුම අයිතිවාසිකම් ලබයි.

මේ අනුව බලන විට අමරවංශ එදි. අමරඥාන තෙර නඩුවේදී ආරියවංශලංකාර ඥානතිලක තෙර විසින් 1941 අංක 402 දරන අන්තිම කැමති පත්‍රය මගින් කරන ලද පැවරීම ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතියට අනුකූළ බවක් තීරණය විය. එහි අනුපිළිවෙල අනුව පත්වීම ලැබිය යුතුය. අනුපිළිවෙලට පිටින් වෙනත් භික්ෂුවකට විහාරාධිපති විය නොහැකිය.

මෙම රීතියම කඹුරුගමුවේ පියනන්ද තෙරුන්නාන්සෙ එදිරිව. උයන්ගොඩ සුමනජෝති තෙරුන්නාන්සේ (66 නව නීති වාර්තා 178) හිදී තහවුරු විය. එනම් මෙහිදී ප්‍රධාන විහාරාධිපති විසින් තමාගේ සියලුම ගෝල භික්ෂූන්ට සිය විහාර හා දේපල අන්තිම කැමති පත්‍රයක් මගින් සමානව පැවරුවේය. එම ප්‍රධාන භික්ෂුව අපවත් වීමෙන් පසුව එකී ගෝල භික්ෂූන් විසින් විහාරාධිපති ලෙස ඔවුනොවුන්ගේ ජ්‍යෙෂ්ඨත්වය අනුව අනුප්‍රාප්තිය ලැබීය. මේ ආකාරයට විහාරාධිපති පදවියට අනුප්‍රාප්තිය ලැබීම ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතියට අනුකූල බව මෙහිදී තම්බයියා විනිසුරු විසින් ප්‍රකාශ කර ඇත.

ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය ශිෂ්‍යයාගෙන් ශිෂ්‍යයාට සීමාවේ. ශිෂ්‍ය අනු-ශිෂ්‍ය යනු ශිෂ්‍යයාගෙන් ශිෂ්‍යයාට යන තේරුම ලැබේ.

"අනු" යනු "අනුව යන" තේරුමයි. එයින් අදහස් වනුයේ අනුපිළිවෙලට ලැබීමයි. ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය ව්‍යාකරණානුකූලව පරම්පරාවෙන් පරම්පරාවට පැවත එන්නන්ට (Descendant line) සීමාවේ. මෙහි පූරාවර්තීන් (Ascendant line) සහ සම පාර්ශ්විකයන් (Co-latteral line) බැහැර කරයි. (26 නව නීති වාර්තා 269 පිටුව)

ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතියට අනුව විහාරාධිපති ධූරයට වැඩි ප්‍රමුඛතාවයක් ඇත්තේ ජ්‍යෙෂ්ඨ ගෝල භික්ෂුවටයි. මෙහි ජ්‍යෙෂ්ඨත්වය තීරණය කිරීමේදී භික්ෂුවක් මහණ කළ දිනය වැදගත් වේ. මහණ කළ දිනය අනුව ජ්‍යෙෂ්ඨත්වය තීරණය වේ. මහණ කළ දිනය සාමනේර ප්‍රකාශනයෙහි (Samanera Declaration) සඳහන් කර ඇත. (ධර්මතිලක ථෙර එදිරිව බුද්ධරක්ඛිත ථෙර 1993-1 ශ්‍රී.ල.නී.වා 405)

ගුණානන්ද උන්නාන්සේ එදි. දේවරක්ඛිත උන්නාන්සේ (26 නව නීති වාර්තා 257) යන නඩුවේදී මහනුවර පිහිටි බෞද්ධ විහාරස්ථානයක් සම්බන්ධයෙන් එහි විහාරාධිපති ධූරය සඳහා කලින් විහාරාධිපති වහන්සේගේ සම ශිෂ්‍ය භික්ෂුවක් (Fellow-Pupil) අතර ආරවුලකදී අධිකරණය ප්‍රකාශකර සිටියේ "විහාරාධිපති කෙනෙකු විසින් තමාගේ සම ශිෂ්‍ය භික්ෂුවක් සහ ශිෂ්‍ය භික්ෂුවක් සිටියදී අපවත් වූ අවස්ථාවක විහාරාධිපති ධූරයට අනුප්‍රාප්තිය ලැබීමේ අයිතිය සම ශිෂ්‍ය භික්ෂුව අභිභවා එහි ශිෂ්‍ය භික්ෂුව වෙත පැවරේ" යන්නයි.

විහාරාධිපති වහන්සේට ශිෂ්‍ය භික්ෂුවක් නොමැති අවස්ථාවක සහ උන්වහන්සේ අනුප්‍රාප්තිකයෙකු නම්කර නොමැති අවස්ථාවක විහාරාධිපති වහන්සේගේ සම ශිෂ්‍ය භික්ෂුවකට (Fellow-Pupil) විහාරාධිපති ධූරය පිරිනැමිය හැක.

ප්‍රායෝගිකව සලකා බැලීමේදී ශිෂ්‍ය භික්ෂුවකට වඩා මුල් විහාරාධිපතිගේ සම ශිෂ්‍ය භික්ෂුවක් (Fellow-Pupil) ජ්‍යෙෂ්ඨත්වයෙන් ඉහළ බැවින් ශිෂ්‍ය භික්ෂුවක් වෙත විහාරාධිපති ධූරය පිරිනැමීම වඩාත් සුදුසුද යන්න සළකා බැලිය යුතුය.

ප්‍රධාන භික්ෂුව විසින් කරන ලද යම් දුරාචාර ක්‍රියාවක් නිසා හෝ වෙනත් ඒ හා සමාන ක්‍රියාවක් කිරීම නිසා උන් වහන්සේ සිවුරු හල අවස්ථාවක එනම් භික්ෂුත්වය අවසන් වූ අවස්ථාවක එම ප්‍රධාන භික්ෂුවට ගෝල භික්ෂූන් සිටියේ නම් එම ගෝල භික්ෂූන්ට ප්‍රධාන භික්ෂුව සිවුරු හල නිසාම උන්වහන්සේ සම්බන්ධයෙන් ගෝල භික්ෂූන්ට ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවට තිබූ අයිතිවාසිකමට කිසිදු බලපෑමක් ඇති නොවේ.

විහාරාධිපති ධූරය පිරිනැමීම සඳහා ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය අදාල වන විහාරයක එම පරම්පරාවේ භික්ෂු පරපුර අවසන් වූ විටක එම පන්සල පොදුවේ සංඝයා වෙත පැවරේ. ඊළඟට එහි විහාරාධිපති පත්කිරීමේ අයිතිය එම පළාතේ මහා නායක හිමි සතුවේ. ධම්මාලෝක තෙර එදිරිව සරණපාල තෙර නඩුව (57 නව නීති වාර්තා 518)

යම් භික්ෂුවක් විහාරාධිපති ධූරයට පත්වනුයේ ශිෂ්‍යානු ශිෂ්‍ය පරම්පරාවේ අනුපිළිවෙල අනුවය. භික්ෂුවක් විසින් කරන ලද යම් දූරාචාර කටයුත්තක් නිසාම තමාගේ අනුපිළිවෙලට ඇති සාමාජිකත්වය අවසන් නොවේ. එසේ අවසන් වීමට නම් ඒ සම්බන්ධව අධිකරණ බලය ඇති විනිශ්චය සභාවක් විසින් එම භික්ෂුව වරදක් කර ඇති බවට තීරණය කළ යුතුය. මේ බව පේමරත්න එදිරව ඉන්දසාර යන නඩුවේදී තීරණය වී ඇත. (40 නව නීති වාර්තා 235 වන පිටුව)

ජ්‍යෙෂ්ඨ භික්ෂුවක් විසින් පන්සල අතහැර දමා යන්නේ නම් එම පන්සල සම්බන්ධයෙන් විහාරාධිපති ධූරයට තිබූ අයිතිවාසිකම් අහිමි වන බව ධනපාල උන්නාන්සේ එදිරිව සුමංගල උන්නාන්සෙ (41 නව නීති වාර්තා 235) යන නඩුවේදී තීරණය කර ඇත.

භික්ෂුවක් තද බල ලෙස රෝගාතුර වී සිටි අවස්ථාවක තාවකාලික ලෙස සිවුරු හැර දමා ගොස් ඇත්නම් ඒ හේතුව මත උන්වහන්සේගේ අයිතිවාසිකම් අහිමි නොවන බව සෝමරත්න එදිරිව ජිනරත්න (42 නව නීති වාර්තා 361) සහ ඩයස් එදිරිව රත්නපාල (40 නව නීති වාර්තා 235) යන නඩුවලදී තීරණය වී ඇත.

මේ අනුව බලන විට පෙනී යන්නේ ජ්‍යෙෂ්ඨ භික්ෂුවකට විහාරාධිපති ධූරයට තිබෙන අයිතිවාසිකම ප්‍රබල අයිතිවාසිකමක් බවයි. එනම් එයට නිතරම ප්‍රමුඛත්වය ලැබේ. කෙසේ වුවද ජ්‍යෙෂ්ඨ භික්ෂුවකගේ විහාරාධිපති ධූරයට තිබෙන අයිතිය අවශ්‍යයෙන්ම හිමිකරදිය යුතු එනම් හිමිවිය යුතු අයිතිවාසිකමක් නොවන බවද කිව යුතුය. එම ජ්‍යෙෂ්ඨ භික්ෂුව එකඟවන්නේ නම් වෙනත් සුදුසු භික්ෂුවකට විහාරාධිපති ධූරය සඳහා පත්විය හැකිය.

**පඤ්ඤාලෝක තෙර එදි සන්ගානන්ද තෙර (1991-2 එස්.එල්.එල්.ආර් 230** යන නඩුවේදී තීරණය වූයේ ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතියට අනුකූලව ජ්‍යෙෂ්ඨත්වය එකම රීතිය වුවද විහාරාධිපති කෙනෙකුට තමාගේ අනුප්‍රාප්තිකයා ලෙස ඕනෑම විශේෂිත ශිෂ්‍යයෙකු පත්කිරීමට අයිතියක් ඇති බවයි.

**පඤ්ඤාවාස හිමි එදි සුදස්සී හිමි (68 න.නි.වා. 512)** ශිෂ්‍යානු ශිෂ්‍ය පරම්පරා රීතියට අදාල සාංඝික දේපළක විහාරස්ථානයේ විහාරාධිපති තෝරා ගැනීමේ බලයක් දායකයන්ට (Dayakayas) නැති බව තීරණය වී ඇත.

**සෝමාලෝක තෙරුන් වහන්සේ එදි සෝමාලංකාර තෙරුන් වහන්සේ (3 න.නි.වා. 380)** බෞද්ධ භික්ෂුවකගේ ශිෂ්‍යයන් (Pupil) උරුම කරු නොවේ. අපවත් වන දිනට අයිතිය බැහැර කර නොතිබූ අපවත් වූ භික්ෂුවගේ පෞද්ගලික දේපළට තෙස්තමේන්තු රහිතව (Abintestio) අයිතියක් ඔහුට නැත.

**ධම්මරත්න හිමි එදි සුමංගල හිමි (14 න.නි.වා. 400)** ශිෂ්‍යයා (Pupil) තම පැවිදි ආචාර්යවරයා හා විහාරස්ථානය අතහැර තිබේ නම් ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා අයිතිය අහිමි කරගෙන තිබේ. ගුරුවරයා (Tutor) දුශ්චරිත හෝ වෙනත් හේතුන් නිසා උපැවිදි වී නම් ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා අයිතිය සම්බන්ධයෙන් ශිෂ්‍යාගේ තත්ත්වයට එය බලනොපායි.

**ධම්මපාල උන්නාන්සේ එදි සුමංගල උන්නාන්සේ (41 න.නි.වා. 235)** විහාරස්ථානය අතහැර දමන ජ්‍යෙෂ්ඨ භික්ෂුවක් විහාරාධිපතිකමට ඇති අයිතිය ද අතහැර (Forfeits) දමයි.

**සෝමරතන හිමි එදි ජිනරතන හිමි** (42 න.නි.වා. 361) ශිෂ්‍යභාවය පැවිදිවීමෙන් (Robing) හෝ උපසම්පදාවෙන් ප්‍රදානය වේ. පැවිදි ශිෂ්‍යයා උපසම්පදා වුවත් නොවුවත් ආචාර්යවරයාගෙන් පසු විහාරාධිපති කමට පත්වේ. උපසම්පදාවට කලින් පැවිදිවීම සිදු වේ. ආචාර්යවරයා විසින් වෙනත් ක්‍රමයකින් නොදෙන ලද්දේ නම් හෝ වරදක් නිසා අහිමි නොවුයේ නම් හෝ අයිතිය අත් නොහැරියේ නම් පළමු පැවිදි වූ ශිෂ්‍යයා ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා වන අතර තම ආචාර්යවරයාගෙන් පසු විහාරාධිපති කමට හිමිකම ලබයි.

**සිරිනිවාස තෙර එදි විමලධම්ම තෙර** (1985 - 2 - 40) විහාරාධිපති වහන්සේට තමන්ගෙන් පසු විහාරාධිපති වශයෙන් තම ශිෂ්‍යයන් අතරෙන් කෙනෙකු නම් කළ හැකිය. ඒ සඳහා විශේෂ ලිඛිත ආකෘති පත්‍රයක් අවශ්‍ය නොවේ. විහාරාධිපති වහන්සේට තම ශිෂ්‍යයෙකු පත්කිරීමට චාරිත්‍රවල (Custom) හෝ නීතියේ අවශ්‍යතතාවයක් ඇති නොවේ. වාචික (Oral appointment) පත් කිරීමක් හෝ නම් කිරීමක් (Nomination) වලංගු වේ.

**සිරිරත්න තෙර එදි ආරියවංශ තෙර** (1995 - 2 - 139) ශිෂ්‍යයානුශිෂ්‍ය පරම්පරා රීතිය අනුව විහාරාධිපතිගේ ඇවෑමෙන් උන්වහන්සේගේ ජ්‍යේෂ්ඨ ශිෂ්‍යයා විහාරාධිපති පදවියට පත්වේ. එසේ වුවත් ජ්‍යේෂ්ඨ ශිෂ්‍යයාට වඩා පක්ෂපාත වු විශේෂ ශිෂ්‍යයෙකු ගුරුවරයා විසින් විහාරාධිපති පදවියට පත් කරන්නේ නම් ජ්‍යෙෂ්ඨ ශිෂ්‍යයා එම පත්වීමෙන් ඉවත් කරනු ලැබිය හැකිය. මෙබඳු පත්වීමක් ඔප්පුවකින්, අන්තිම කැමති පත්‍රයකින් හෝ අවිධිමත් ලියවිල්ලකින් විය හැකි ය.

**සම විහාරාධිපති - දේවානන්ද හිමි එදිරිව සුමංගල හිමි** (29 න.නි.වා. 415) බෞද්ධ විහාරස්ථානයක විහාරාධිපති පදවිය එක් එක් වසර වලදී මාරුවෙන් මාරුවට භික්ෂූන් වහන්සේලා දෙනමකට ඉසිලිය හැකි බව තීරණය විය.

# 6

# භික්ෂු ලේඛනය

## (Register of Bhikkus)

භික්ෂු ලේඛනය යනුවෙන් හැඳින්වෙන්නේ ඒ ඒ විහාරස්ථාන වල වාසය කරන සියලුම බෞද්ධ භික්ෂූන් පිළිබඳව අදාල විස්තර ලියාපදිංචි කොට ඇති පොත් කාණ්ඩයන්ය. එම භික්ෂුව සාමණේර නමක් වුවද උපසම්පද භික්ෂුවක් වුවද උන්වහන්සේලා සම්බන්ධව අදාල විස්තර තබාගත යුතුය. මෙසේ තබාගැනීම තුළින් ඊට අදාල විස්තර ඕනෑම අයෙකුට දැනගත හැකිය.

මෙම භික්ෂු ලේඛනය හා ඊට අදාල කාර්ය පටිපාටිය විහාර හා දේවාලගම් පනතේ මනාව විස්තර කොට ඇත. යම් භික්ෂුවක් විසින් එම භික්ෂුව උපසම්පදා භික්ෂුවක් නම් පනතේ සඳහන් උපලේඛනයේ “ඒ” ආකෘතියේ ("A" Form) දැක්වෙන ආකෘති පත්‍රිකාවක් ලබාගෙන එම භික්ෂුව සම්බන්ධව එහි අසා ඇති සියලු විස්තර එහි දැක්විය යුතුය.

සාමනේර භික්ෂුවක් නම් තමා මහණ කළ ආචාර්ය භික්ෂූන් වහන්සේ විසින් පනතේ උපලේඛනයේ “බී” ආකෘතියේ ("B" Form) දැක්වෙන ආකෘති පත්‍රය පිරවිය යුතුය. මෙසේ සම්පූර්ණ කරන ලද ආකෘති පත්‍රයන්හි දෙවන පිටපත කොපියක්ද සමග මාසයක්

ඇතුළත බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් වරයා වෙත යැවිය යුතුය. (41(2) ) වගන්තිය.

කොමසාරිස්වරයා විසින් මෙම ලියවිලි ලැබුන විට ඉන් එක් පිටපතක් තමාගේ ප්‍රයෝජනය සඳහා තබාගෙන අනෙක් පිටපත මහා නායක ස්වාමින් වහන්සේ වෙතට යැවිය යුතුය. එසේ නැත්නම් අදාල නිකායේ නායක ස්වාමින් වෙතට යැවිය යුතුය. උන්වහන්සේ විසින් සහ කොමසාරිස් විසින් තමන්ට ලැබුන ලියවිලිවල පිටපත් නියමිත ආකාරයට ලියාපදිංචි කළ යුතුය. (41 (3) වගන්තිය)

උපසම්පදා හා සාමනේර භික්ෂූන් පිළිබඳ විස්තර පැහැදිලිව වෙන වෙනම ලියාපදිංචි කළ යුතුය. ඒ සඳහා වෙන වෙනම පොත් කාණ්ඩ තබාගත යුතු අතර ඒවා අංක පිළිවෙලට තබා ගත යුතුය.

යම් මහා නායක ස්වාමින් වහන්සේ කෙනෙකු විසින් හෝ අදල නිකායේ නායක ස්වාමින් වහන්සේ කෙනෙකු විසින් තමන් පවත්වා ගෙන යන පොත් කාණ්ඩවල ඇති සාමනේර හා උපසම්පද භික්ෂූන් පිළිබඳව ලියාපදිංචි කර ඇති විස්තර වල අවශ්‍ය වැරදි නිවැරදි කිරීම්, එකතු කිරීම හා වෙනස් කිරීම් කළ හැකිය. මෙසේ කරන ල ද යම් නිවැරදි කිරීම් එකතු කිරීම් හා වෙනස් කිරීම් කළ වහාම ඒ පිළිබඳව බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයාට දැනුම් දිය යුතුය. එම විස්තර කොමසාරිස්වරයා විසින් අවශ්‍ය පරිදි සටහන් කරගත යුතුය. (41(4) (5) වගන්තීන්)

"නායක ස්වාමීන් වහන්සේ කෙනෙකු විසින් කරන නිවැරදි කිරීම්, එකතු කිරීම් හා වෙනස් කිරීම් අදාල සාමනේර හා උපසම්පදා භික්ෂූන් පිළිබඳව අදල තොරතුරු නිවැරදිව පවත්වාගෙන යෑමට අවශ්‍ය වන්නාවූ අලුත්ම තොරතුරු සටහන් කිරීම් වලට පමණක් සීමාවේ. 41(5) යන උපවගන්තියෙන් ඕනෑම නිවැරදි කිරීමක්, එකතු කිරීමක්, හෝ වෙනස් කිරීමක් කිරීමට නායක ස්වාමීන් වහන්සේ කෙනෙකුට අවසර දී නැත. බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයාට තමන්ට ලැබෙන මෙම වෙනස් කිරීම්, නිවැරදි කිරීම් හෝ එකතු කිරීම් ලියාපදිංචි කිරීමට අවසර ඇත්තේ එම

වෙනස් කිරීම් ආදිය 41(5) වගන්තියෙන් ලැබී ඇති අධිකාරිය යටතේ නායක ස්වාමීන් වහන්සේ කෙනෙකු විසින් කර ඇත්නම් පමණි. එසේම කොමසාරිස්වරයා විසින් එම තොරතුරු ලියාපදිංචි කිරීමට ව්‍යවස්ථානුකූලව බැඳී ඇත්තේ එම තොරතුරු අදාල භික්ෂුව පිළිබඳව අප්‍රමාදව ඉදිරිපත් කළ අලුත් තොරතුරු නම් පමණි. අලුත් (upto date) තොරතුරු යන්නෙහි අර්ථය නම් එය අප්‍රමාදව කළ යුතුය, සහ එය අලුත් තොරතුරක් විය යුතුය යන්නයි. නායක ස්වාමීන් වහන්සේ කෙනෙකු විසින් මේ ආකාරයට දෙනලද ඕනෑම තොරතුරක් පිළිබඳව නිසි පරීක්ෂණයක් නොකර කොමසාරිස්තුමා විසින් ලියාපදිංචි කරන්නේ නම් එය වහාම නතර කළ යුතුය." මෙම නීති තත්ත්වය බස්නායක අග විනිසුරු තුමා විසින් ජනානන්ද තෙරුන් එදිරිව රත්නපාල තෙරුන්නාන්සේ නඩුවේදී ප්‍රකාශකර ඇත. (61 නව නීති වාර්තා 273)

මෙම නඩුවේදීම 1940 ඔක්තෝබර් මස 15 දින මහණ වූ බවට ප්‍රමාද දෝෂයකින් ලියාපදිංචි කළ ප්‍රකාශයක් පසුව 1938 ඔක්තෝබර් මස 15 වන දින වශයෙන් වෙනස් කිරීමට කළ ඉල්ලීමක් ප්‍රතික්ෂේප විය. මේ ආකාරයේ වෙනස් කිරීමක් විහාර හා දේවාළගම් පනතේ 41(5) යටතේ කිරීමට අවසර නැත. එසේම අදල ලේඛන කාර්යක්ෂමව පවත්වාගෙන යාමටද මෙම වෙනස් කිරීම උපකාරී නොවේ. මෙම ඉල්ලීම ප්‍රතික්ෂේප වීමට බෙහෙවින් ඉවහල්වූයේ මෙම ඉල්ලීම මුල් ප්‍රකාශයේ සිට අවුරුදු 07 ක් පසුවී කර තිබීමත් මෙම සිද්ධිය අදාල නඩුව පැවරීමට මාස 03 කට පෙර කර තිබීමත් නිසාය.

මහානායක තෙර එදිරිව රෙජිස්ට්‍රාර් ජෙනරල් (2 - සිලෝන් ලෝ ජර්නල් 107) නඩුවේදී භික්ෂුවක්ව සිය භික්ෂු තත්වයෙන් ඉවත් කිරීමක් සම්බන්ධව රෙජිස්ට්‍රාර් ජෙනරාල්ට දැන්වූ අවස්ථාවේදී ඔහු විසින් ඒ පිළිබඳව සිය ලේඛනයේ ලියාපදිංචි කිරීම් කිරීම ප්‍රතික්ෂේප කර ඇත. අධිකරණය තීරණය කර සිටියේ භික්ෂුවක් ඉවත් කිරීම පිළිබඳව කරුණු රෙජිස්ට්‍රාර් ජෙනරාල් විසින් ලියාපදිංචි කළ යුතු බවයි. එය අදල ලේඛනයන් කාර්යක්ෂමව පවත්වාගෙන යාමට උපකාරී වන බවයි.

# මහා සංඝසභාව හෙවත් සංඝාධිකරණය

## (Ecclesiastical Court)

බෞද්ධ පූජක වහන්සේලා අතර ඇති උසස්ම සංඝාධිකරණය මෙම මහා සංඝ සභාවයි. මෙම සභාවේ සභාපතිධූරය මහා නායක තෙර විසින් හෝ උසස්ම සංඝ නායක තෙර විසින් හොබවයි.

සංඝයා වහන්සේලා අතර ඇතිවන යම් යම් විනය පිළිබඳ ආරවුල් එනම් අභ්‍යන්තර විනය පිළිබඳ ආරවුල් (Internal Discipline) මෙමගින් විසඳනු ලබයි. උදාහරන ලෙස බෞද්ධ භික්ෂූන් වහන්සේලා අතර ඇතිවන සදචාරාත්මක ප්‍රශ්න හා විෂමාචාරයන් (Immorality & Misconduct) පිළිබඳ ප්‍රශ්න හා ආරවුල් විසඳනු ලබයි. එසේම මෙම සංඝාධිකරණය මගින් කෙරෙන තවත් කාර්යයක් වනුයේ බෞද්ධ විහාරයක විහාරාධිපති කෙනෙකු පත් වූ විටක එම පත්වීම් ආදිය ස්ථිර කිරීමයි. එසේ ස්ථිර කළ පසු උන්වහන්සේට එහි විහාරාධිපති ලෙස කටයුතු කළ හැකිය. තවද, භික්ෂුවක් උපසම්පද ලැබීමේදී මෙම සංඝ සභාවෙන් අවසර ගත යුතුය.

නායක ස්වාමින් වහන්සේලා කීප නමකගේ ප්‍රධානත්වයෙන් සාමාන්‍යයෙන් පස් නමකගේ ප්‍රධානත්වයෙන් මෙම සංඝාධිකරණය පැවැත්විය හැකිය. මීට ලේඛකාධිකාරී භික්ෂූන් වහන්සේ කෙනෙකු සිටිය යුතුයි. විමසීමක ආකාරයෙන් සිදුවන මෙම සංඝ සභාවේ කාර්යයන් සඳහා ඊට අදාල දෙපාර්ශවයටම පෙනී සිටිය හැකිය. දෙපාර්ශවයේ භික්ෂූන් වහන්සේලාට පෞද්ගලිකව පෙනී සිටිය හැකිය.

මෙම විමසීම් අවසානයේ සංඝ සභාව විසින් තීරණයක් දිය යුතු අතර ඊට සංඝ සභාවේ ලේඛකාධිකාරී භික්ෂුව විසින් අත්සන් තැබිය යුතුය.

සංඝ සභාවක් අර්ධ අධිකරණ බලය ඇති විනිශ්චය සභාවක් ලෙස හඳුන්වා දිය හැකිය. එසේම මෙම සභාව විසින් යම්

පරීක්ෂණයක් පවත්වා තීරණයක් දීමේදී එම පරීක්ෂණයට ස්වෙච්ඡාවෙන් සහභාගී වූ සියලුම අය විසින් එම තීරණයට බැඳී සිටිය යුතුය.

ආගමික අධිකරණයෙන් දෙන ලද තීරණයෙන් පාර්ශවකරුවෝ බැඳී සිටිති. එම තීරණය අධිකරණය මගින් බලාත්මක කළ හැකිය.

එසේම තීරණයක් දීමේදී යම් විෂමාචාරයක් සිදුකොට ඇත්නම් හෝ විමසීම පැවැත්වීමේදී එය අවිධිමත් ආකාරයට පවත්වා ඇත්නම් එසේම එය ස්වාභාවික යුක්ති ධර්මයේ රීතීන් කඩවන ආකාරයට පවත්වා ඇත්නම් සංඝ සභාව මගින් දෙන තීරණයන්ට බැඳී නොසිටින අතර ඊට විරුද්ධව යම් සහනයක් ලබාගත හැකිය. සරණංකර තෙර එදිරිව මැදගම ධම්මානන්ද තෙර (55 නව නීති වාර්තා 313) නඩුවේදී ස්වාභාවික යුක්ති ධර්මයේ රීතීන් ලෙස හඳුන්වනු ලබන්නේ යම් පරීක්ෂණයක් පැවැත්වීමේදී එම පරීක්ෂණයට සහභාගි වන සියලුම පක්ෂ වලට තමන් වෙනුවෙන් කරුණු කියා පෑමට අවස්ථාව සලසා දීමයි. එනම් දෙපාර්ශවයටම සවන් දිය යුතුය, සහ එම පරීක්ෂණය පවත්වන අය විසින් එයට සහභාගි වන අයට කිසිම පක්ෂපාත කමක් නොදැක්වීම යන කරුණු දෙකයි යන්න තීරණය විය.

සංඝ සභාවක් විසින් යම් පරීක්ෂණයක් හෝ විමසීමක් පැවැත්වීමේ දී කරන ලද යම් විෂමාචාරයක් හෝ අවිධිමත් භාවයක් නිසා ස්වාභාවික යුක්ති ධර්මයේ රීතින් කඩකල විටක එම සංඝ සභාවේ තීරණයට විරුද්ධව සිවිල් අධිකරණයකට අභියාචනය කිරීමේ අයිතියද, නීතිය විසින් දී තිබේ. සුමංගල උන්නාන්සේ එදිරිව ධම්මරක්ඛිත උන්නාන්සේ (11 නව නීති වාර්තා 360) නඩුවේදී මහා සංඝ සභාව පිළිගත් විනිශ්චය සභාවක් නොවේ. මහා සංඝ සභාවේ තීරණය සලකනු ලබන්නේ බේරුම් කරුවන්ගේ ප්‍රදානයක් වශයෙනි. අවිධිමත් බව සහ වැරදි ක්‍රියා පටිපාටිය නිසා මෙබඳු තීරණ ඉවත දැමීමේ වගකීමට යටත් වේ. සංඝ සභාවක් හෝ යම් සංඝාධිකරණයක් විසින් පරීක්ෂණයක් පැවැත්වෙන අතරතුර ඊට සම්බන්ද එක් පක්ෂයකට එම පරීක්ෂණයේදී තමන් වෙනුවෙන් සාක්ෂ්‍ය දීමට ඉඩදීම ප්‍රතික්ෂේප කිරීම යම් අවිධිමත් භාවයක්

බවත් එය ස්වාභාවික යුක්තිධර්මයේ රීතීන් කඩකිරීමක් බවත් තීරණය විය.

භික්ෂූන් වහන්සේලාගේ අභ්‍යන්තර විනය හා හැසිරීම සම්බන්ධව හා සංඝ සභාවේ තීරණය අවසානාත්මක ය. සංඝ සභාවේ තීරණය අනුව මහනාහිමි ක්‍රියා කරයි. මහා සංඝ සභාව සහ මහානායක හිමි විනය පිටකය පිළිබඳ බොහෝ දැනුවත් වන අතර සිය නිකායේ භික්ෂූන් වහන්සේලාගේ විනය පිළිබඳ ප්‍රශ්න වලදී හොඳම විනිසුරුවරුන් ය. ආචාර්යවරුන් හා ශිෂ්‍යයන් අතර ඇතිවන පෞද්ගලික වූ විනය සම්බන්ධ ප්‍රශ්නවලදී අධිකරණය තීරණය කිරීමෙන් වැලකී සිටී. භික්ෂූන් වහන්සේලාගේ විනය කරුණු පාලනය වන්නේ විනය පිටකයෙනි. නිකායේ අභ්‍යන්තර කටයුතු ක්‍රමවත්ව පවත්වාගෙන යාමට මෙම ආයතනය පිහිටුවා ඇත.

# "පුණ්‍ය භාර"

## (Charitable Trusts)

ලංකාවේ පුණ්‍ය භාර නීතිය ක්‍රම දෙකකින් ශ්‍රී ලංකා නීතියට ඇතුල් වී ඇත. එනම් ඉංග්‍රීසි නීතිය මගින් සහ ශ්‍රී ලංකාවට ආවේනික වූ සාංඝික ක්‍රමය මගින්ය. ඉංග්‍රීසි නීතිය පදනම් කරගෙන වර්ෂ 1917 දී හඳුන්වා දුන් ශ්‍රී ලංකාවේ භාර ආඥා පනතට අනුව පුණ්‍ය භාරයක් විස්තර කර දී ඇත්තේ මෙසේය.

"පුණ්‍ය භාර" යන යෙදුමට ශ්‍රී ලංකාව ඇතුළත හෝ පිටත මහජනයාගේ හෝ මහජනයාගෙන් කොටසකගේ ප්‍රයෝජනය සඳහා පහත සඳහන් කුමන හෝ වර්ගයක කිසියම් භාරයක් ඇතුළත් වේ.

(අ) දුගී භාවයට සහනයක් සැලසීම සඳහා හෝ,

(ආ) අධ්‍යාපනය හෝ දැනුම හෝ නංවාලීම සඳහා හෝ

(ඇ) ආගම දියුණු කරලීම හෝ ආගමික පිළිවෙත් හා ව්‍යවහාර පවත්වා ගෙන යාම සඳහා හෝ

(ඈ) ඉහත වර්ග තුළට නොගැනෙන්නාවූ ද මිනිස් වර්ගයාට ප්‍රයෝජනයක් හෝ යහපතක් සලස්වන්නා වූ ද වෙනත් යම් කාර්යයක් සඳහා

පොදුවේ සාමාන්‍යයෙන් සමාජ සේවය අරමුණු කර ගනිමින් සහ පින් ලබා ගැනීමේ අරමුණකින් පුණ්‍යභාර ඇති කරයි. මෙය පොදු භාරයකි. පුණ්‍ය නොවන පොදු භාරද ඇත. ඒ අනුව දේශපාලන සමිතියක් සඳහා ඇති කරන භාරය පුණ්‍ය නොවන පොදු භාරයක් විය හැකිය.

අපට පැරණි කාලයේ සිටම පුණ්‍ය භාර නීති ක්‍රමයක් තිබුනි. සාංඝික ක්‍රමය යනුවෙන් හැඳින්වෙන්නේ එයයි. මෙම ක්‍රම දෙක තුළම සමාන ලක්ෂණ ඇත. බටහිර ඉංග්‍රීසි පුණ්‍ය භාර නීතියට අනුව මෙම දේපළක් භාරකරු විසින් තමන්ගේ පෞද්ගලික දේපළක් ලෙස ආරක්ෂා කළ යුතුය. වර්තමානයේ වුවද මෙම දේපළ පුද්ගලික

දේපළක් ලෙස ආරක්ෂා කළ යුතුය. එය සංවර්ධනය කළ යුතුය. මෙම පුණ්‍ය භාරයකින් ඕනෑම කෙනෙකුට ප්‍රයෝජනයක් ලබා ගත හැකිය. පුණ්‍ය භාරයක් මහජනයාගේ හෝ මහජනයාගෙන් කොටසකගේ ප්‍රයෝජනය සඳහා පිහිටුවා ගත හැකි වුවද සතුන්ගේ ප්‍රයෝජනය සඳහා පිහිටුවා ගන්නා භාර, පුණ්‍ය භාර ලෙස පිළිගනු නොලැබේ. සාංඝික දේපළක් පූජා කරනු ලබන්නේ සංඝයාගේ ප්‍රයෝජනය සඳහා ය.

ආගම දියුණු කරලීම හෝ ආගමික පිළිවෙත් හා ව්‍යවහාර පවත්වා ගෙන යාම සඳහා පුණ්‍ය භාරයක් ඇති කළ හැකිය. ආගම දියුණු කරලීම සඳහා පිහිටුවා ඇති භාර පමණක් ඒ යටතේ ඉංග්‍රීසි නීතියෙහි පුණ්‍ය භාර ලෙස සලකනු ලැබේ. එයට වෙනස්ව ශ්‍රී ලංකාවේ ආගමික පිළිවෙත් හා ව්‍යවහාර පවත්වා ගෙන යාම යනුවෙන් අතිරේක වචන යොදා එය වැඩි දියුණු කර පුළුල් කර ඇත.

රත්ගම පඤ්ඤාසේකර නායක තෙර එදිරිව කල්දේරා (58 න.නී.වා. 331) නඩුවේදී විහාරස්ථානයක දැල්වෙන පහනක් තබා ගැනීම සඳහා පිහිටුවා ඇති භාරයක් පුණ්‍ය භාරයක් වශයෙන් සලකනු ලැබ ඇත.

**ආදායම් බදු කොමසාරිස් එදිරිව හඳවතී පුණ්‍ය භාරය** (63 න.නී.වා 409) නඩුවේදී ත්‍රිවිධ රත්නයට සම්බන්ධ පිළිවෙත් සහ ව්‍යවහාර පවත්වා ගෙන යාම සඳහා පිහිටුවා ඇති භාරයක් පුණ්‍ය භාරයක් වශයෙන් සලකනු ලැබ ඇත.

පුණ්‍ය භාර දේපළ බොහෝ විට වෙනත් අය විසින් අයත් කර ගෙන භුක්ති විඳිනු දක්නට ලැබෙන අවස්ථා ඇත. එහෙත් පුණ්‍ය භාර දේපළක් වෙනත් පුද්ගලයෙකු විසින් කාලයක් අඛණ්ඩව භුක්ති විඳීම මගින් වුවද වෙනත් අයෙකුට කාලාවරෝධී නීතිය යටතේ අයත් කර ගත නොහැකිය. අවුරුදු ගණනාවක් භුක්ති වින්දත් භුක්තියට සවි නොවේ.

# කාලාවරෝධය
## (Prescription)

යම් පුද්ගලයෙකු විසින් අඛණ්ඩව කාලයක් තිස්සේ තවත් පුද්ගලයෙකුට අයිති නිශ්චල දේපළක් භුක්ති විඳීම තුළින් එම දේපළ තමන් සතු කර ගැනීමට නීතියෙන් ඉඩකඩ තිබේ. මෙය සිදුවනුයේ කාලාවරෝධය හෙවත් කාලය ඉකුත් වීම මගිනි.

1871 කාලාවරෝධය ආඥා පනතට අනුව වෙනත් පුද්ගලයෙකු සතුව ඇති නිශ්චල දේපළක් තවත් කෙනෙකු විසින් අවුරුදු 10කට නොඅඩු කාලයක් තිස්සේ අඛණ්ඩව හා නිරවුල්ව එමෙන්ම ඔහුගේ අයිතිවාසිකම් වලට ප්‍රතිවිරුද්ධ ආකාරයට එනම් ස්වාධීනව එය භුක්ති වින්දොත් එය භුක්ති වින්ද අය සතු කර ගත හැකිය.

මෙහිදී ප්‍රශ්නය වනුයේ පන්සලකට එනම් පංසලක් විසින් වෙනත් කෙනෙකුට අයත් නිශ්චල දේපලක් ඉහතකී ආකාරයට භුක්ති විඳීම මගින් කාලාවරෝධය යටතේ අයිතිකර ගත හැකිද? යන්නයි. කාලාවරෝධය මගින් යම් අයිතිවාසිකමක් ලැබිය හැක්කේ පුද්ගලයෙකුට පමනි. පන්සලක් නීතිමය පුද්ගලයෙකු නොවේ. එනම් පන්සලකට ස්වාභාවික හෝ ව්‍යාජ පුද්ගල භාවයක් නොමැත. එසේ නැති නිසා යම් නිශ්චල දේපලක් පන්සලක් විසින් කාලාවරෝධය මගින් අයිතිකර ගත හැකිද? යන ප්‍රශ්ණය මතුවේ.

පන්සලකට නිශ්චල දේපළක් මේ ආකාරයට අයිති කර ගත නොහැක. එහෙත් පන්සලක භාරකරුවෙකුට හෝ නායක විහාරාධිපතිට කාලාවරෝධය මගින් නිශ්චල දේපළක් එම පන්සලේ යහපත සඳහා පන්සල වෙනුවෙන් අත්කර ගත හැකිය. එසේ අත්කර ගැනීමට එය කාලයක් තිස්සේ ඉහත කී ආකාරයට අඛන්ඩව හා නිරවුල්ව භුක්ති වින්ද යුතුය. මෙහිදී අයිතිවාසිකම ඉදිරිපත් කළ යුත්තේ භාරකරු විසින්ය.

සිල්වා එදිරිව පොන්සේකා (15 නව නීති වාර්තා 239) නඩුවේදී මිඩ්ල්ටන් හා වුඩ්රෙන්ටන් යන විනිසුරුවරු තීරණය කර සිටියේ

පන්සලක් වෙනුවෙන් එම පන්සල සඳහා යම් නිශ්චල දේපළක් කාලාවරෝධය මගින් අයත් කර ගත හැකි බවයි.

නමුත් සාංඝික දේපළක අයිතිය වෙනත් පුද්ගලයෙකුට කාලයක් භුක්ති විඳීම මගින් කාලාවරෝධය යටතේ අයිතිකර ගත නොහැක. සාංඝික දේපළ අවුරුදු 100 ක් වෙනත් අයෙකු විසින් භුක්ති වින්දත් භුක්තියට සවි නොවේ.

බෞද්ධ විහාරයක විහාරාධිපතිගේ ශිෂ්‍ය භික්ෂුවක් විසින් එම විහාර දේපලවල පන්සල් ගොඩනැගිල්ලක් ඉදිකර එය භුක්ති විඳීම ආරම්භ කළේය. එසේ ගොඩනැගිල්ලක් ඉදිකර එය භුක්ති විඳීම, එම විහාරයට ප්‍රතිවිරුද්ධ ආකාරයේ භුක්තියක් ආරම්භ වීමක් නොවන බවත් එය එම විහාරය වෙනුවෙන් ඉදිකළ ගොඩනැගිල්ලක් විය යුතු බවත් **සෝභිත තෙර එදිරිව විමලබුද්ධි** (19 සිලෝන් ලෝ රෙකෝඩර් 143) හිදී තීරණය වී ඇත. මේ අනුව එකී ඉදිකළ නව ගොඩනැගිල්ල එම විහාරය සතු විය යුතුය.

**සුමනතිස්ස හිමි එදිරිව ගුණරත්න හිමි** (8 ස.ල.නි. 67) විහාරාධිපති කමට අයිතිය ඉල්ලීම වසර 03 ඇතුලත ඉදිරිපත් නොකෙරේ නම් එම 1871 කාලාවරෝධ ආඥා පනත මගින් බාධා විය හැකිය.

**තෙරුන්නාන්සේ එදිරිව තෙරුන්නාන්සේ** (28 න.නී.වා. 477) බෞද්ධ විහාරස්ථානයක විහාරාධිපති කමට අයිතිය ප්‍රකාශ කරවා ගැනීමට ගෙනෙන ලද නඩුව (Action for Dectaration) නඩු නිමිත්ත පැනනැගි වසර 03 ක් ගතවීම නිසා කාලාවරෝධ වී ඇත.

# පන්සල් ඉඩම් (වන්දි) ආඥා පනත

ලංකාවේ දැනට ක්‍රියාවේ යෙදෙන ඉඩම් අත්පත්කර ගැනීමේ ආඥා පනත යටතේ මහජන යහපත සඳහා පෞද්ගලික ඉඩමක් රජයට අත්කර ගත හැකිය. ඉඩමේ අයිතිය කා සතු වුවද එය රජය විසින් අත්කරගත හැකිය. බොහෝ දුරට මේ ආකාරයට අත්කර ගනුයේ එකී ඉඩම මහජනතාවගේ සුභ සිද්ධිය සඳහා ප්‍රයෝජනයට ගැනීම පිණිසය. මේ ආකාරයට සංඝයා වහන්සේලා විසින් භුක්ති විඳින සාංඝික දේපලක් ලෙස සැළකෙන පන්සල් ඉඩමක් වුවද අත්කර ගත හැකිය. මේ ආකාරයට පන්සල් ඉඩමක් වුවද අත්කර ගනුයේ ඉහත කී ඉඩම් අත්කර ගැනීමේ ආඥා පනත යටතේය. කෙසේ වුවද, මෙම රජයට අත්කර ගන්නා ඉඩම් සඳහා රජය විසින් එකී ඉඩම් හිමියන්ට වන්දි ගෙවිය යුතුය.

පන්සලක් සතු ඉඩමක් මේ ආකාරයට අත්කර ගෙන ඒ සඳහා වන්දි ගෙවීමේදී එය මහාභාරකරුට ගෙවිය යුතු බවට **1944 අංක 28 දරන පන්සල් ඉඩම් (වන්දි) ආඥා පනතේ** සඳහන් වේ. දැනට තිබෙන නීතිමය තත්ත්වය අනුව මෙම වන්දි ගෙවීම කරනුයේ බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයාටයි. එම මුදල් කුමන අරමුණු සඳහා යෙදවිය හැකිද යන්න සහ ඊට අදාල අනිකුත් කරුණු පන්සල් ඉඩම් (වන්දි) ආඥා පනතේ විස්තර කර ඇත.

මේ ආකාරයට පන්සල් දේපලක් අත්කර ගන්නා අවස්ථාවක ඒ සඳහා බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස් වරයාට එකී පන්සල වෙනුවෙන් අයිතිවාසිකම් ඉදිරිපත් කිරීම සඳහා පෙනී සිටිය හැකිය. එසේම ඉඩම් අත්පත්කර ගැනීමේ ආඥා පනත යටතේ වන්දි වශයෙන් ප්‍රධානය කරනු ලබන සියලුම මුදල් බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයාට ගෙවිය යුතුය. බෞද්ධ විහාර හා දේවාලගම් පනතේ කුමක් සඳහන් වී තිබුනද වන්දි වශයෙන් ගෙවනු ලබන මුදල් එම පන්සලේ භාරකරුට හෝ පාලක විහාරාධිපතිට නොගෙවිය යුතු බව පන්සල් ඉඩම් වන්දි ආඥා පනතේ 2 වන වගන්තියේ විස්තර කර ඇත.

ඉඩම් අත්කර ගැනීමේ ආඥා පනත යටතේ වන්දි වශයෙන් බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයාට ලැබුණු සියලුම මුදල් හෝ පන්සලක් සතු ඕනෑම ඉඩමක් අත්කර ගැනීමක් සම්බන්ධව කොමසාරිස්වරයා ලැබූ මුදලක් ඔහු විසින් පන්සලේ භාරකරු හෝ පාලක විහාරාධිපති නමින් සහ බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයා නමින් ඇමතිවරයා විසින් අනුමත කරන බැංකුවක හවුල් ගිණුමක් ලෙස තැන්පත් කළ යුතුය. එසේම එකී මුදල් පන්සලේ භාරකරු හෝ පාලක විහාරාධිපති විමසා පහත සඳහන් අරමුණු වෙනුවෙන් බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයාට යෙදවිය හැකි බව පන්සල් ඉඩම් (වන්දි) ආඥා පනතේ 03 වන වගන්තිය විස්තර කර ඇත.

(අ) එම පන්සල සඳහා ඉඩමක් මිලදී ගැනීම වෙනුවෙන්,

(ආ) එම පන්සල භික්ෂූන්ගේ නඩත්තුව වෙනුවනේ,

(ඇ) එම පන්සලේ භික්ෂූන්ගේ නවාතැන් පහසුකම් සඳහා ගොඩනැගිල්ලක් ඉදිකිරීම වෙනුවෙන්,

(ඈ) එම පන්සලේ ආගමික සහ චාරිත්‍රානුකූළ උත්සව පැවැත්වීම සඳහා ගොඩනැගිල්ලක් ඉදිකිරීම වෙනුවෙන්,

(ඉ) බෞද්ධ විහාර හා දේවාලගම් පනත යටතේ පත්කරන ලද උපදේශක සභාවේ අනුමැතිය ඇතිව, එම පන්සලේ වැඩිදියුණුව සඳහා වෙනත් ඕනෑම අරමුණක් වෙනුවෙන් යෙදවිය හැකිය.

එකී මුදල් කුමන අරමුණක් සඳහා යොදාගන්නේද යන්න සම්බන්ධව එකඟතාවයක් නොමැති අවස්ථාවක බෞද්ධ කටයුතු පිළිබඳ කොමසාරිස්වරයා විසින් එම ආරවුල ඇමතිවරයාට යොමු කළ යුතුය. ඇමතිවරයාගේ තීරණය අවසන් තීරණය වේ.

# දණ්ඩ නීති සංග්‍රහයේ සඳහන් වන ආගම පිළිබඳව වූ වැරදි
## (Offences Relation Religion)

යම් පංතියක තැනැත්තන්ගේ ආගමකට නින්දාවක් කරන අදහසින් හෝ විනාශ කිරීම, හානි කිරීම හෝ අශුද්ධ කිරීම යම් පංතියක තැනැත්තන් විසින් තමන්ගේ ආගමට කරන ලද නින්දාවක් ලෙස සලකනු ලැබිය හැකි බව දනිමින් ම, යම් පංතියක තැනැත්තන් විසින් ශුද්ධ ලෙස සලකනු ලබන පූජනීය ස්ථානයක් හෝ ද්‍රව්‍යයක් යමකු විනාශ කරන හෝ හානි කරන හෝ අශුද්ධ කරන අවස්ථාවක වරදක් කරනු ලබයි. (290 වගන්තිය)

ආගමික වැඳුම් පිදුම් කිරීමක් හෝ ආගමික පූජාවන්හි නීති ප්‍රකාර යෙදී සිටින යම් රැස්වීමකට කැමැත්තෙන්ම බාධා කරන තැනැත්තෙකු වරදකට වරදකරු වන බවත් ලැබෙන දඬුවම් ගැනත් 291 වගන්තිය සඳහන් කරයි.

යම් තැනැත්තෙකුගේ හැඟීම් වලට රිදවනු පිණිස හෝ යමෙකුගේ ආගමට නින්දා කිරීම පිණිස හෝ ඒ බව දනිමින්ම යම් වැඳුම් පිදුම් කරන ස්ථානයකට හෝ සොහොන් භූමියකට හෝ අවමංගල චාරිත්‍ර පැවැත්වීම සඳහා හෝ මියගිය තැනැත්තන් තැන්පත් කිරීම සඳහා වෙන් කරනු ලැබූ ස්ථානයකට බලෙන් යමෙකු ඇතුළු වෙතොත් හෝ මළ කඳට අගෞරවයක් කරතොත් හෝ බාධා කර තොත් වරදකට වරදකරු වී දඬුවමකට යටත් වන බව 292 වගන්තිය විස්තර කරයි.